# බුද්ධ ධර්මය

## 6 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා - ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති - අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ - අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ - අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

ලෝකය දිනෙන් දින සංවර්ධනය කරා පියමනින විට අධ්‍යාපන ක්ෂේත්‍රය ද සැමවිටම අලුත් වෙයි. එබැවින් අනාගත අභියෝග සඳහා සාර්ථක ලෙස මුහුණ දිය හැකි ශිෂ්‍ය ප්‍රජාවක් බිහිකරලීමට නම් අපගේ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය ද නිරතුරුව සාධනීය ප්‍රවේශ වෙත ළඟාවිය යුතු ය. එයට සවියක් වෙමින් නවලොව දැනුම සමීප කරන අතරම, යහගුණයෙන් පිරිපුන් විශ්වීය පුරවැසියන් නිර්මාණය කිරීමට සහයවීම අපගේ වගකීම වේ. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යයෙහි සක්‍රිය ලෙස ව්‍යාවෘත වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ සඳහා දායක වනුයේ දැයේ දරුවන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොතක් යනු දැනුම පිරි ගබඩාවකි. එය විටෙක අප වින්දනාත්මක ලොවකට කැඳවාගෙන යන අතරම තර්ක බුද්ධිය ද වඩවාලයි. සැඟවුණු විභව්‍යතා විකසිත කරවයි. අනාගතයේ දිනෙක, මේ පෙළපොත් හා සබැඳි ඇතැම් මතක, ඔබට සුවයක් ගෙන දෙනු ඇත. මේ අනගි ඉගෙනුම් උපකරණයෙන් ඔබ නිසි පල ලබාගන්නා අතරම තව තවත් යහපත් දැනුම් අවකාශ වෙත සමීප වීම ද අනිවාර්යයෙන් සිදු කළ යුතු ය. නිදහස් අධ්‍යාපනයේ මහරු තිළිණයක් ලෙස නොමිලේ මේ පොත ඔබේ දෝතට පිරිනැමේ. පාඨ ග්‍රන්ථ වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පෙළපොත හොඳින් පරිශීලනය කර නැණ ගුණ පිරි පුරවැසියන් වී හෙට ලොව එළිය කරන්නට ඔබ සැමට දිරිය සවිය ලැබෙන්නැයි සුබ පතමි.

මෙම පෙළපොත් සම්පාදන සත්කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයටත් මාගේ ප්‍රණාමය පළකරමි.

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක,**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2020. 05. 26

**නියාමනය හා අධීක්ෂණය :**

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම :**

**ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය :**

**ඩී. එම්. ජයන්ත පුෂ්පකුමාර**
නියෝජ්‍ය කොමසාරිස් (පාලන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සංස්කාරක මණ්ඩලය :**

1. **මහාචාර්ය, පූජ්‍ය දේවාලේගම මේධානන්ද ස්වාමීන් වහන්සේ**
   කැලණිය විශ්වවිද්‍යාලය
2. **අති පූජ්‍ය, ගන්තුනේ අස්සජි මහානායක ස්වාමීන් වහන්සේ**
   විශ්‍රාමික කථිකාචාර්ය, ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය
3. **ආචාර්ය, පූජ්‍ය මාඹුල්ගොඩ සුමනරතන ස්වාමීන් වහන්සේ**
   නියෝජ්‍ය අධ්‍යක්ෂ ජනරාල්, ජාතික අධ්‍යාපන ආයතනය

**සිංහල භාෂා සංස්කරණය :**

1. **මහාචාර්ය, නිමල් මල්ලවආරච්චි**
   අංශාධිපති, සිංහල අධ්‍යයන අංශය, කැලණිය විශ්වවිද්‍යාලය

**ලේඛක මණ්ඩලය :**

1. **කථිකාචාර්ය, පූජ්‍ය උඩුගම සුදස්සි හිමි**
   ආගම් දෙපාර්තමේන්තුව, ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම.
2. **ශාස්ත්‍රපති, එස්.පී. විතාන**
   විශ්‍රාමික කථිකාචාර්ය, ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම.
3. **අධ්‍යාපනපති, ඩබ්.ජී.සී. වේරගොඩ**
   ගුරු උපදේශිකා, කොට්ඨාස අධ්‍යාපන කාර්යාලය, වරකාපොළ.
4. **දර්ශනපති, උදයරුවන් මල්ලිකාරච්චි**
   විදුහල්පති, ඉහළ බෝමිරිය කනිෂ්ඨ විද්‍යාලය, කඩුවෙල.
5. **ශාස්ත්‍රපති, ආර්.ජී. ගුණවර්ධන**
   ගුරු උපදේශක, ගිරි/රුවන්ගිරි මධ්‍ය මහා විද්‍යාලය, බෝගමුල්ල.

**සෝදුපත් කියවීම :**

1. **එස්.බී.එම්. නිමල් ධර්මසිරි**
   අධ්‍යාපන අධ්‍යක්ෂ,
   ආගමික හා සාරධර්ම අංශය, අධ්‍යාපන අමාත්‍යාංශය

**චිත්‍ර, රූප සටහන්, පිට කවරය සැකසීම :**

1. **අමිතා ඉන්දිරානි**
   සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ
   කලාප අධ්‍යාපන කාර්යාලය, ගම්පොළ

**පරිගණක ගත කිරීම, පිටු සැකසීම :**

1. **ඩබ්ලිව්.ඩී. නිම්මිකා**
   අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
2. **ජී.එන්. ශානිකා මධුශානී**
   අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**අධ්‍යාපන අමාත්‍යාංශයේ බෞද්ධ උපදේශක මණ්ඩලයේ අනුමැතිය පරිදි, 2015 නව විෂය නිර්දේශයට අදාළ ව මෙම පොත සම්පාදනය කර ඇත.**

# පටුන

පිටුව

## අධ්‍යාපන අමාත්‍යාංශයේ බෞද්ධ උපදේශක මණ්ඩලය විසින් අනුමත කරන ලද ගුරු වන්දනා ගාථාව සහ අධිෂ්ඨාන පද්‍යය

### ගුරු වන්දනා ගාථාව

ඕවාද සිප්ප දානේන
සික්ඛාපේති මමං ගරු
සගාරවේන චිත්තේන
අහං වන්දාමි තං ගරුං

ඔවා සිප් දීමෙන
මා හික්මවන පේමෙන
ඇදුරු හද බැතියෙන
වඳිම් ගුරු සිත පෙරටු කරමින

### පාසල් උදෑසන රැස්වීම අවසානයේ කෙරෙන අධිෂ්ඨානය

තෙරුවන පුදා සිහිකර මාපිය දෙදෙන
ගුරු සිත දිනා ඔප කර ගෙන ගුණ නුවණ
කරමින සබා විදුහල් මැණිගෙ සිහින
සුරකිම් සදා මගෙ රට ජාතිය සසුන

රචක: පූජ්‍ය ගන්තුනේ අස්සජී හිමි

# 01 අසිරිමත් බෝසත් කුමරු

එදා පෝය නිවාඩු දිනයකි. බෝසත් ළමා සමාජයේ දරුවෝ විහාරස්ථානයට පැමිණ සිල් සමාදන් වූ පිරිසට ගිලන්පස පිළිගැන්වූහ. පසු ව ඔවුහු පොඩි හාමුදුරුවන් හමු වීමට කතිකා කර ගත්හ. පොඩි හාමුදුරුවෝ සංඝාවාසයේ ආලින්දයේ වැඩ හිඳ බණ පොතක් කියවමින් සිටියහ."අප මහ බෝසතාණන් වහන්සේ වෙසතුරු අත් බවින් නික්ම තුසිත දෙව්ලොව අපමණ දෙව්සිරි විඳිමින් සිටිසේක. එකල **බුද්ධ කෝලාහලය** නම් කෝලාහලයක් ඇති විය" යැයි පොඩි හාමුදුරුවෝ බණ පොත කියවීම නතර කළහ. දරුවෝ එතැනට ගොස් වැඳ අවසර ගෙන බිම වාඩි වූහ. ශාන්ත මෙසේ විමසී ය.

"අවසරයි පොඩි හාමුදුරුවනේ, මොකක් ද **බුද්ධ කෝලාහලය** කියන්නේ...?"

"ලෝකයෙහි දෙවියන් බුදු කෙනෙකු උපදින්නට අවුරුදු දහසකට පෙර **මෙයින් අවුරුදු දහසක් ඉකුත් වූ කල බුදු කෙනෙකුන් උපදිනවා** යි හඬ නඟා කියමින් ඇවිදිනවා. අන්න ඒකට තමයි, බුද්ධ කෝලාහලය කියන්නේ...''

"පොඩි හාමුදුරුවනේ බුදු කෙනෙක් පහළ වුණේ කොහොම ද කියලා කියා දෙන්නකෝ." කුමුදුනී ආරාධනා කළා ය.

"මේ බුද්ධ කෝලාහලය මිනිසුන්ට මෙන් ම දෙවියන්ට හා බඹුන්ටත් ඇහෙනවා. ඒ ඇහුණා ම දහසක් සක්වල දෙවියන් බඹුන් මේ මඟුල් සක්වලට ම රැස් වෙනවා.



එසේ රැස් වූ දෙවි බඹුන් අසවල් නම් ඇති කෙනෙකු බුදු වෙනවා යි දැන ගන්නවා. දැනගෙන ඒ වන විට තුසිත දෙව්ලොව වැඩ සිටින බෝසතුන් වෙත ගොස් ආරාධනා කරනවා. දේවාරාධනාව යනු එයයි.”

“ලෝ සතුන් සසර දුකින් මුදවනු පිණිස ඔබ වහන්සේ බුදුබව ප්‍රාර්ථනා කරමින් දස පාරමී දම් පිරුවා. දැන් ඒ පාරමී දම් පුරා අවසානයි. බුදු වන්නට කාලය පැමිණ ඇතැ”යි සහම්පති මහා බ්‍රහ්මයා ප්‍රමුඛ දෙවියන්, බඹුන් මෙසේ ආරාධනය කළත්, බෝසතාණන් ඔවුන්ට පොරොන්දුවක් නොදී **පස් මහ බැලුම්** නම් වූ පංච මහා විලෝකනය කළා. එනම් බුදු වීමට සුදුසු කාලය, දීපය, දේශය, කුලය හා මවු යන මේ කරුණු පහ ගැන විමසා බැලීමයි. මෙසේ පස් මහ බැලුම් බැලූ බෝසතාණන් මිනිස් ලොව උපදින්නට තීරණය කළා.



එදා මුළු දඹදිව් තලය ම සැණකෙළි පැවැත්වූ දිනයක්. මහාමායා දේවියත්, සුද්ධෝදන රජතුමාත් ඊට සහභාගි වුණා. ඇසළ පෝය දා මහාමායා දේවිය පෙහෙවස් සමාදන් වී දුගී මඟී යාචකාදීන්ට දන් දෙමින් කල්ගත කළා. එදින මැදියම් රැයේ දී ඇය පුදුම උපදවන සිහිනයක් දුටුවා. සුදු ඇත් පැටවෙකු සුදු පියුමක් සොඬින් ගෙන, තමා නිදා සිටින යහන වටා තෙවරක් පැදකුණු කොට තමන්ගේ කුසට ඇතුළු වීම ඒ සිහිනයයි.

සුදොවුන් රජුට සිහිනය දන්වූ විට ඒ ගැන උගත් බමුණු පඬිවරුන්ගෙන් විමසුවා. එවිට ඔවුන් ප්‍රකාශ කළේ පින්වත් කුමරකු දේවියගේ කුස පිළිසිඳ ගෙන ඇති බවයි. එබැවින් සුදොවුන් රජතුමා ඇතුළු රජ මාලිගයේ පිරිස මහාමායා දේවිය හොඳින් රැකබලා ගැනීමට කටයුතු කළා.

දස මසක් ඉක්ම ගිය ද වෙසක් පුර පසළොස්වක දිනය එළඹුණා. සුද්ධෝදන රජතුමාගෙන් අවසර ගත් මහාමායා දේවිය ඇතුළු පිරිස අලංකාර පෙරහැරකින් තම මවුපියන් ජීවත් වන **දෙව්දහ** නුවර බලා යාමට පිටත් වුණා.

මහාමායා දේවිය අතරමඟ මලින් පිරුණු **ලුම්බිණි** නම් සල් උයන දැක එහි මඳක් නැවතී යන්නට කල්පනා කළා. එහි මලින් බර වුණු අලංකාර සල් ගසක් දුටු ඇය එහි අත්තක් අල්ලා ගත්තා. ඒ වේලාවේ දී එතුමියගේ ගතට අමුත්තක් දැනුණා. ඒ බව තම සේවිකාවන්ට දැනුම් දුන් විට ඔවුන් දේවිය වටා තිර ඇද රැකවල් දැම්මා. මොහොතකින් අප මහා බෝසතාණන් වහන්සේ මවු කුසින් බිහි වුණා.



ඒ මොහොතේ සතරවරම් දෙවිවරුන් සාධුකාර පැවැත්තුවා. අහසින් සිසිල් හා උණුසුම් දිය දහරා දෙකක් මතු වුණා. මෙවැනි අසිරිමත් සිදුවීම් සමගින් ම පොළොවෙන් මතු වූ නෙළුම් මල් මත පුංචි කුමරු පියවර හතක් ගමන් කර දකුණු අතේ දබරැඟිල්ල අහසට දිගු කර මෙසේ සිංහනාද පැවැත්තුවා.

"අග්ගෝ'හමස්මි ලෝකස්ස - ජෙට්ඨෝ'හමස්මි ලෝකස්ස
සෙට්ඨෝ'හමස්මි ලෝකස්ස - අයමන්තිමා ජාති නත්ථිදානි පුනබ්භවෝ"

**මම ලොවට අග්‍ර වෙමි, මම ලොවට ජ්‍යෙෂ්ඨ වෙමි, මම ලොවට ශ්‍රේෂ්ඨ වෙමි, මේ මගේ අන්තිම උපතයි. නැවත උපතක් නැත.**

සුදොවුන් රජුට කරුණු සැලවුණා. ඒ වන විට දෙව්දහ නුවර සිට එහි පැමිණි පෙරහැරත් සමග මහාමායා බිසව සහ පින්වත් කුමරු කිඹුල්වත් නුවර මාලිගයට ගෙන්වා ගැනීමට කටයුතු කළා.

දරුවනේ, අප මහා බෝසතාණන් වහන්සේගේ ඉපදීම සිදු වුණේ මේ විදියටයි. බෝසතුන් බිහි වූ ඒ වෙලාවේ මුළු ලෝකයට ම සතුටක්, සැනසිල්ලක්, නිදහසක් ඇති වුණා.

## සාරාංශය



- ⋆ සිදුහත් බෝසතාණෝ ආසන්න පෙර බවයෙහි තුසිත දෙව්ලොව දිව්‍ය පුත්‍රයෙකු වී සිටියහ.
- ⋆ බෝසත් දෙවියන්ට, මිනිස් ලොව උපදින්නට සහම්පති බ්‍රහ්මයා ඇතුළු දෙවියෝ ආරාධනා කළෝ ය.
- ⋆ පස්මහ බැලුම් යනු කාලය, දීපය, දේශය, කුලය හා මවු යන කරුණු විමසා බැලීමයි. එය **පංච මහා විලෝකනය** නමින් ද හැඳින්වෙයි.
- ⋆ බෝසතාණන් වහන්සේ මවු කුස පිළිසිඳ ගත්තේ ඇසළ පුන් පොහෝ දිනක ය.
- ⋆ බෝසත් කුමරු ඉපදුණේ වෙසක් මස පසළොස්වක පොහොය දිනයේ ලුම්බිණි සල් උයනේ දී ය.
- ⋆ කුමාරෝත්පත්තිය සමග සිදු වූ අසිරිමත් සිදුවීම් රැසකි.

    1. සතර වරම් දෙවිවරු සාධුකාර පැවැත්වීම
    2. අහසින් සිසිල් හා උණුසුම් දිය දහරා මතුවීම
    3. සත් පියුම් මත වැඩි කුමරු සිංහනාද පැවැත්වීම

## ක්‍රියාකාරකම



01. "ඒ" කාණ්ඩයේ ප්‍රකාශවලට ගැළපෙන පිළිතුර "බී" කාණ්ඩයෙන් තෝරා වරහන () තුළ ඊට අදාළ අංකය යොදන්න.

| ඒ | | බී |
|---|---|---|
| 1. සිදුහත් බෝසතාණන් ආසන්න භවයේ සිටියේ | ( ) | i වෙසක් පසළොස්වක දා ය. |
| 2. මනුලොව උපදින්නට ආරාධනා කළේ | ( ) | ii තුසිත දෙව්ලොව ය. |
| 3. මවුකුස පිළිසිඳ ගත්තේ | ( ) | iii ඇසළ පොහොය දා ය. |
| 4. බෝසත් කුමරු ඉපදුණේ | ( ) | iv සහම්පතී මහා බ්‍රහ්මයා ප්‍රමුඛ දෙවියන් ය. |

## පැවරුම



දෙමාපියන් සමඟ විහාරස්ථානයට ගොස් ඔබ නැරඹූ, බෝසත් චරිතයට අදාළ සිතුවමක් චිත්‍රයට නගන්න.

## පුහුණුවට

සහම්පති මහා බ්‍රහ්මයා තුසිත දෙව්ලොව දිව්‍යරාජයාට මනුලොව උපදින්නට ආරාධනා කළ ගාථාව

කාලෝ'යංතේ මහාවීර
උප්පජ්ජ මාතු කුච්ඡියං
සදේවකං තාරයන්තෝ
බුජ්ඣස්සු අමතං පදං

(මහා විරුවාණනි, මේ ඔබට මවු කුස ඉපදීමට කාලයයි. දෙවියන් සහිත ලෝක වාසීන් දුකින් මුදවමින් අමාරස ඇති නිවන අවබෝධ කරන්න.)

# 02 සිදුහත් කුමරුගේ ළමා කාලය හා යොවුන් විය

මෙවර වෙසක් සඟරාවේ හය වන ශ්‍රේණියේ දරුවන්ට නියමිත ව ඇත්තේ සිදුහත් කුමරු ළමා වියේ සිට තම සහජ දක්ෂතා මතු කර ගනිමින් ජීවිතය සාර්ථක කර ගත් අන්දම දැක්වෙන ලිපියක් සකස් කිරීම ය. **සිදුහත් කුමරුගේ ළමා කාලය හා ශිල්ප දැක්වීම** පිළිබඳ ව එම දරුවන් සඟරාවට ඇතුළත් කළ ලිපිය කියවා බලමු.

බෝසත් කුමරුගේ උපත පිළිබඳ පුවත මුළු කිඹුල්වත් පුරයේ ම පැතිර ගියේ ය. ඒ ගැන රට වැසියෝ ඉමහත් සතුටට පත් වූහ. සුද්ධෝදන රජතුමාගේ ගුරුවරයා



වූ **අසිත** හෙවත් **කාලදේවල** තවුසා මේ පුවත දැන ගත් කල්හි කුමරු දැකීමට මාලිගයට පැමිණියේ ය. රජතුමා පුත් කුමරු රැගෙන ගුරුවරයාට වන්දවා ආශීර්වාද ගැනීමට ආ විට එම කුමරාගේ සිඟිති දෙපා අසිත තවුසාගේ ජටාව මත පිහිටියේ ය. එවිට තවුසාණෝ පළමු ව සිනා සී දෙවනු ව ඇඬූහ. එසේ කළේ මන්ද යි රජතුමා ඇසූ විට තාපස තුමෝ මෙසේ පැවසූහ.

"රජතුමනි, මේ කුමරු ඒකාන්තයෙන් ම බුදු වෙනවා. එබැවින් මම සිනාසුණෙමි. කුමරු බුදු වන්නට පෙර මා මිය යන බැවින් හැඬුවෙමි."

පසු ව අසිත තවුසා පුංචි කුමරුට දෙහොත් මුදුන් දී වැන්දේ ය. එය දුටු සුදොවුන් රජතුමා ද පුත් කුමරුට වැන්දේ ය. මෙය තම පුතුට පිය රජතුමාගේ පළමු වැඳුම ය.

එකල දඹදිව පැවති සිරිත අනුව දරුවකු බිහි වී පස් වන දිනයෙහි නම් තැබීමේ උළෙල පැවැත්වෙයි. බෝසත් කුමරුගේ නම් තැබීමේ මංගල්‍යයට බමුණු පඬිවරු 108ක් කැඳවන ලදහ. ඒ අතරින් තෝරා ගත් ඉතා උගත් පඬිවරුන් අට දෙනාට එම කාර්යය පවරන ලදි. ඉන් සත් දෙනෙක් ම කුමරා ගිහිගෙයි විසුවොත් සක්විති රජකම ලබන බවත් පැවිදි වුවහොත් බුද්ධත්වයට පත් වන බවත් කීහ. එහෙත් වයසින් බාල කොණ්ඩඤ්ඤ නම් බමුණා එක ඇඟිල්ලක් ඔසවා, 'ශරීර ලක්ෂණ අනුව කුමරා ඒකාන්තයෙන් ම බුදු වන බව' පැවසී ය. ලොවට යහපතක් හෙවත් අර්ථයක් සිද්ධ කර දෙන බැවින් **සිද්ධාර්ථ** යැයි නම තැබිය යුතු බව සියලු පඬිවරු තීරණය කළහ.

සිදුහත් උපත සිදු වී සත් දිනකින් මහාමායා දේවිය කලුරිය කළා ය. පුංචි කුමරා හදා වඩා ගැනීම මහාමායා දේවියගේ නැඟණිය වූ **මහා ප්‍රජාපතී ගෝතමී දේවියට** භාර විය. ඇය සිදුහත් කුමරු තමාගේ ම දරුවකු සේ හොඳින් රැක බලා ගත්තා ය.

ශාක්‍ය ජනපදයේ කුඹුරු ගොවිතැන් කරන කාලයේ සී සෑමේ උත්සවයකට එනම් වප් මඟුල් උළෙලකට රජතුමා සිදුහත් කුමරු ද රැගෙන ගියේ ය. කුමරු කිරි මවුවරුන් භාරයට පත් කර රැකවල් යොදා රජතුමා කුඹුරට බැස සී සෑමට එක් විය. ටික වේලාවකින් කිරි මවුවරුන් ද උත්සවය නැරඹීමට මඳක් ඔබ්බට ගිය බව දුටු කුමරා, **ආනාපාන සති** භාවනාව වඩමින් පලක් බැඳ සිටියේ ය. මේ බව දුටු කිරිමවුවරු වහා ඒ බව රජතුමාට දැනුම් දුන්හ. ඉන්



මහත් පුදුමයටත් සතුටටත් පත් රජතුමා පුත් කුමරුගේ භාග්‍යවන්තකම ගැන සිතා කුමරුට නමස්කාර කළේ ය. මෙය පිය රජුගේ දෙවන වැඳුමයි. මෙම අසිරිමත් සිදුවීම වන විට කුමරුට වයස මාස පහකි. කාලය ගෙවී ගියේ ය. කුමරු කෙළිදෙලෙන් මාලිගාවෙහි වැඩුණි.

සිප් සතර හැදෑරීමට සුදුසු කල පැමිණි විට සුද්ධෝදන රජතුමා **සර්වමිත්‍ර** නම් වූ බමුණු පඬිවරයා ගෙන්වා ඔහු ලවා සිදුහත් කුමරුන්ට සූසැට කලා ශිල්ප හා සියලු ශාස්ත්‍ර ඉගැන්වී ය. කුමරු එහි දී කෙටි කලකින් ම සියලු සිප්සතර හදරා නිම කළේ ය. නමුත් සිදුහත් කුමරු තමා උගත් ශිල්ප කිසි විටෙකත් අන් අය හිංසාවට පීඩාවට පත් කිරීම සඳහා යොදා ගත්තේ නැත. එහි දී කුමරු සමග ශිල්ප ශාස්ත්‍ර උගත් නන්ද හා කාළුදායි යන කුමාරවරුන් සමග ද ඉතා සමගියෙන් කටයුතු කළේ ය. එසේ ම ගුරුතුමාට ඉතා කීකරු ව හොඳින් උගත්තේ ය. ගුරුතුමා යමක් ඉගැන්වූ විට ඒ ඔස්සේ තව බොහෝ දේ සොයා බලා තම දැනුම දියුණු කර ගත්තේ ය.

කුමරුට වයස අවුරුදු දහසයක් විය. එකල චාරිත්‍රය අනුව සුද්ධෝදන රජතුමා තම පුත් කුමරුට සුදුසු කුමරියක සරණ පාවා දීම සඳහා තම ඥාතීන්ට පණිවුඩ යැවී ය. එවිට "සිදුහත් කුමරු ශිල්ප කිසිවක් නොදත්තෙකැ'යි" ඥාතීන් අතර

ඇති වූ රාවය කුමරුට දැනගන්නට ලැබිණ. කුමරු එම අභියෝගයට නොසැලී මුහුණ දුන්නේය. දින හතක් ඇතුළත තමා ශිල්ප දක්වන හෙයින් කිඹුල්වත් නුවර ශිල්ප දක්වන භූමියට සියලු දෙනාට ම පැමිණෙන ලෙස අණබෙර ගැස්වීය. එහි දී සිදුහත් කුමරු සිය නෑදෑයින් ඉදිරියේ ඔවුන් විස්මයට පත් කරවමින් කඩු ශිල්ප, දුනු ශිල්ප ආදී ශිල්ප දොළහක් ප්‍රදර්ශනය කළේ ය. එහි දී දෙව්දහ නුවර සුප්‍රබුද්ධ රජුගේ දියණිය වූ යසෝදරාව සිදුහත් කුමරු සමග සරණ බන්ධනයට ඉදිරිපත් වූවා ය.



ළමා වියේ සිට ම සහජ දක්ෂතා පෙන්වමින් ශිල්ප ශාස්ත්‍ර මනා ලෙස හැදෑරීමෙන් සිදුහත් කුමරුට අභියෝග ජය ගැනීමට හැකි විය. අපගේ ජීවිතවලට ද එම ආදර්ශය එක් කර ගැනීමට උත්සාහ ගනිමු.

## සාරාංශය

- ★ පිය රජතුමා තම පුතුට පළමු ව වැන්දේ අසිත තාපසතුමා කුමරුට වැන්ද අවස්ථාවේ දී ය.
- ★ බෝසත් කුමරුට නම් තැබීම සිදු කළේ ඉපදී දින පහකට පසු ව ය. ඒ සඳහා මාලිගයට බමුණෝ 108ක් කැඳවනු ලැබූහ.
- ★ ලොවට අර්ථය සිද්ධ කර දෙන බැවින් බෝසත් කුමරු සිද්ධාර්ථ ලෙසින් නම් කෙරිණි.
- ★ කුමරු ඉපදී දින 7න් මහාමායා දේවිය කලුරිය කළෙන් මහා ප්‍රජාපතී ගෝතමී දේවිය සුළුමවු වූවා ය.
- ★ වප් මඟුල් උත්සවයේ දී කුමරු පලක් බැඳ අනාපානසති භාවනාව කළ අතර එදින පිය රජුගේ දෙවන වැඳුම සිදු විය.
- ★ සිදුහත් කුමරු ශිල්ප උගත්තේ සර්වමිත්‍ර බමුණාගෙනි.
- ★ ශිල්ප හැදෑරීමේ දී දක්ෂ ලෙස කටයුතු කිරීම සිදුහත් කුමාර චරිතයෙන් අපට ගත හැකි ආදර්ශයකි.
- ★ තම දක්ෂතා දැක්වීමට අවස්ථාවක් පැමිණි විට උගත් ශිල්ප මැනැවින් දක්වා අභියෝග ජය ගැනීමට සිදුහත් කුමරු සමත් විය.
- ★ දෙව්දහ නුවර සුප්‍රබුද්ධ රජතුමාගේ දියණිය වන යසෝදරා දේවිය සිදුහත් කුමරු සමග විවාහ වීමට ඉදිරිපත් වූවා ය.
- ★ නන්ද හා කාළුදායි යනු සිදුහත් කුමරු සමග එකට හැදුණු කුමරුන් දෙදෙනෙකි.

## ක්‍රියාකාරකම



(1) පහත සඳහන් වගන්ති හරි නම් (√) ලකුණ ද වැරැදි නම් (x) ලකුණ ද යොදන්න.

i. අසිත තවුසා සිනාසුණේ සිදුහත් කුමරු ඒකාන්තයෙන් ම බුදු වන බව දැන ගත් නිසා ය. (   )
ii. නම් තැබීමේ උළෙලට පඬිවරු 102ක් සහභාගි වූහ. (   )
iii. පිය රජුගේ දෙවන වැඳුම වප් මඟුල් ද සිදු විය. (   )
iv. කුමරා ඉපදී සත් දිනකින් මහාමායා දේවිය කලුරිය කළා ය. (   )
v. සිදුහත් කුමරුගේ ගුරුවරයා සර්වමිත්‍ර බමුණා ය. (   )

(2) නිවැරැදි පිළිතුර යටින් ඉරක් අඳින්න.

i. සුද්ධෝදන රජුගේ ගුරුවරයා (සර්වමිත්‍ර/ අසිත) බමුණා ය.
ii. සිදුහත් කුමරු ආවාහ වූයේ (යසෝදරා/ විශාඛා) කුමරිය සමග ය.
iii. නම් තැබීමේ උළෙල පැවැත්වූයේ කුමරු ඉපදී (පස් වන/ දෙවන) දිනයේ දී ය.
iv. එක ඇඟිල්ලක් ඔසවා කුමරු බුදු වන බව ප්‍රකාශ කළේ (කොණ්ඩඤ්ඤ/ වප්ප) බමුණා ය.
v. යසෝදරා දේවිය (සුප්‍රබුද්ධ/ සුද්ධෝදන) රජුගේ දියණිය යි.

## පැවරුම



i. සිදුහත් කුමාර චරිතයේ උපතේ සිට ශිල්ප දැක්වීම තෙක් වැදගත් සිදුවීම් පෙළ ගස්වා රූප රාමු සහිත ව ඉදිරිපත් කරන්න.

ii. සිදුහත් කුමාර චරිතයේ පාඩමට නියමිත කොටසින් ශිෂ්‍යයෙකුට ගත හැකි ආදර්ශ නම් කර පාසල් බිත්ති පුවත්පතෙහි පළ කරන්න.

# 03 තිලොවට ගුරු වූ බුදු සමිඳු

සිදුහත් බෝසත් කුමරු බුද්ධත්වය ලබා ගැනීමේ දී නොයෙක් අභියෝගවලට මුහුණ දුන්නේ ය. ඒ හැම අභියෝගයක් ම ඉතා හොඳින් ජය ගන්නට එතුමාට හැකි විය.

උසස් ඉගෙනුමක් ලත් සිදුහත් කුමරුන්ට වයස අවුරුදු දහසය පිරුණි. මනා ව වැඩුණු සිරුරින් ද, නොඅඩු ව ලැබූ සිප් සතරින් ද පිරිපුන් වූ කුමරුන්හට රාජ්‍යය භාර දීමට සුද්ධෝදන රජතුමා කටයුතු කළේ ය. කුමරුගේ වාසය පිණිස එක් එක් කාලයට සරිලන පරිදි රම්‍ය, සුරම්‍ය හා සුබ යනුවෙන් මාලිගා තුනක් සාදවා දෙන ලදි. දෙව්දහ නුවර සුප්‍රබුද්ධ රජුගේ දියණිය වන යසෝදරා කුමරිය ඉතා ම රූමත්, යහපත් ගුණධර්මවලින් පිරි දියණියක් වූවා ය. බෝසත් සමයේ සිට ම සිදුහත් කුමරු හා යසෝදරා කුමරිය නොයෙක් ආත්ම භවයන්හි එක් ව ඇසුරු කිරීමෙන් හා පාරමිතා පිරීමේ දී එකිනෙකාට උපකාරී



වීමෙන් ඇති වූ බැඳීම ද සිදුහත් යසෝදරා දෙපළගේ එක් වීමට උපකාරී විය. ඔවුන්ගේ සරණ මංගල්‍යය ඉතා උත්සවාකාරයෙන් සිදු විය.

සිදුහත් කුමරු යසෝදරා දේවිය සමග ආදර්ශවත් යුග දිවියක් ගත කළ අතර මාලිගයේ දාසි දස්සන්ට පවා කරුණා දයාවෙන් යුතු ව සැලකුවේ ය. උසස් අන්දමින් රජ සැප විඳිමින් අවුරුදු දහතුනක් ම සිදුහත් කුමරු රට පාලනය කිරීමට සහාය විය. රට වැසියන්ට ද ඉතා ම යහපත්, සැපවත් ජීවිත ගත කරන්නට අවස්ථාව ලැබුණි.

මාලිගයේ ඒකාකාරී ජීවිතයෙන් මිදී බැහැර ලෝකය ගැන විමසිලිමත් වන්නට සිතූ සිදුහත් රජ කුමරු දිනක් විනෝදය පිණිස උයන් ක්‍රීඩාවට යෑමට පිටත් විය. අශ්ව රථයෙන් උයනට යන ගමනේ දී පළමු ව ඔහු සැරයටියක් අතින් ගත් මහලු මිනිසකු දුටුවේ ය. පෙර නුදුටු ඒ වැහැරී ගිය රුව දැක පුදුම වී තම රියැදුරු ඡන්න ඇමැතිගෙන් ඒ ගැන අසා තමනුත් එබඳු අවස්ථාවකට පත් වෙන බව අවබෝධ කර ගත් කුමරුවාණෝ උයන් ක්‍රීඩාවට නොගොස් ආපසු මාලිගාව වෙත ගමන් ගත්හ.

දෙවන දිනයේ දී කුමරු රෝගී වූ මහලු මිනිසකු දුටුවේ ය. කවදා හෝ තමා ද මෙවැනි තත්ත්වයකට පත්වන බව ඡන්න ඇමැතිගෙන් අසා දැනගත් කුමරු එදින ද උයනට නොගොස් ආපසු හැරුණේ ය.

තුන්වන දිනයේ දී මළ සිරුරක් දැක පුදුම විය. එදින ද කුමරු ඡන්නගෙන් අසා තමන්ට ද මෙබඳු මරණයක් උරුම බව දැන සිත කලකිරීමට පත් වී ආපසු හැරී  මාලිගාවට ගියේ ය.

සිව්වන දිනයේ දී අමුතු ම පැවැත්මක් ඇති, ඉතා සන්සුන් ගමනින් යුතු කසාවතක් පොරවා ගත් ශාන්ත වූවෙකු දුටු කුමරු, ඡන්නගෙන් ඒ පිළිබඳ ව විමසුවේ ය. කලින් දුටු ලෙඩ වීම, මහලු වීම, මරණය, ආදී දුක් පීඩාවලින් මිදීමට ගිහිගෙය අතහැර  පිළිවෙත් පුරන හෙතෙම තවුසෙකු බව කුමරු දැන ගත්තේ ය. කුමරුන් තුළ උපන්නේ පැහැදීමකි. එදින උයන වෙත ගිය සිදුහත් කුමරු උයන් සිරි නරඹමින් කාලය ගත කළේ ය.

එසේ කාලය ගත කළ සිදුහත් කුමරුහට පියරජු විසින් එවන ලද සේවකයකු විසින් යසෝදරා දේවියට පුත් කුමරකු ලැබුණු බව දන්වන ලදි. මෙම පුවත

ඇසූ කුමරුට **රාහුලයෙක් උපන්නා; ගිහිගෙයි බැම්මක් ඇති වුණා** යැයි කියවුණි. (රාහුලෝ ජාතෝ බන්ධනං ජාතං) රාජ සේවකයා ඒ පුවත සුදොවුන් රජතුමාට දැන්වී ය. සිදුහත් කුමරුගේ මුවින් පිට වූ **රාහුල** යන වචනය ම පුත්කුමරාට නම වශයෙන් තබන ලදි.

සිදුහත් රජ කුමරු රැගත් අලංකාර රථය මාලිගාව බලා ගමන් කරන්නට විය. පැවිදි වීමේ ආශාව නිසා කුමරුගේ මුහුණේ වෙනදාට වඩා පියකරු සන්සුන් විලාසයක් දක්නට ලැබුණි. මඟ දෙපස සිටි ජනතාව ද කුමරුගේ සන්සුන් විලාසය අගය කරමින් බලා සිටියහ. **කිසාගෝතමී** කුමරිය ද සිදුහත් කුමරුගේ සන්සුන් බව දැක මහත් සතුටට පත් ව මෙසේ ප්‍රකාශ කළා ය.

"නිබ්බුතා නූන සා මාතා - නිබ්බුතෝ නූන සෝ පිතා
නිබ්බුතා නූන සා නාරි - යස්සායං ඊදිසෝ පති"

(නිසැක ව ම මේ පුතුගේ මව නිවුණු කෙනෙක්, මේ පුතුගේ පියා නිවුණු කෙනෙක්, මේ හිමිගේ බිරිය නිවුණු කෙනෙක් වන්නේ ය.)

නිවීමේ සුවය පිළිබඳ එම ප්‍රකාශය, කුමරුගේ සිත තුළ හට ගෙන තිබුණු ගිහිගෙයින් නික්ම යාමේ අදහසට ආලෝකයක් විය. තමන් ඇසූ ගාථාවෙන් වැදගත් පාඩමක් ඉගෙන ගන්නට ලැබුණු නිසා සතුටු වූ රජකුමරු තම ගෙලෙහි පැලඳි අගනා මුතුහර කිසාගෝතමියට තෑගි කර යවා මාලිගයට ගියේ ය.

පෙරනිමිති දැකීමෙන් ගිහි ජීවිතය පිළිබඳ මහත් සේ කලකිරුණු සිදුහත් කුමරා ගැඹුරින් කල්පනා කරමින් ම සිටියේ ය. වෙන දා මෙන් මාලිගාවට නාටිකාංගනාවෝ පැමිණ ගයමින්, වයමින්, නටමින් කුමරු සතුටු කරන්නට උත්සාහ කළහ. එහෙත් කුමරා ඒ ගැන තැකීමක් නොකොට ම ඊට පිටු පා නිදන්නට විය. තම රැඟුම් කෙරෙහි කුමරුගේ කිසි ම ඇල්මක් නොමැති බව දැන ගත් නාටිකාංගනාවෝ ද ඒ ඒ තැන්වල වැටී නිදන්නට වූහ. මඳ වේලාවකට පසු කුමරා අවදි ව වටපිට බැලුවේ ය. රැඟුම් රඟන විට දෙවඟනන් සේ සිටි නාටිකාංගනාවන් නිදා සිටින ආකාරය දැක වඩාත් කළකිරුණු හෙතෙම එදින ම ගිහිගෙය අතහැර යාමට තීරණය කළේ ය. ඡන්න ඇමැති අමතා කන්ථක අසු සූදානම් කරන ලෙස නියම කළ සිදුහත් කුමරා මාලිගාවෙන් පිටත් ව යාමට පෙර එදින උපන් තම පුත් කුමරාත්, යසෝදරා

දේවියත් බැලීමට සිරියහන් ගැබට ගියේ ය. පුංචි පුතා වඩා ගැනීමට සිතුණත් යසෝදරා දේවිය අවදි වුවහොත් එය ගමනට බාධාවක් වෙතැයි සිතා ඔහු එතැනින් නික්මුණේ ය. ඒ වන විට සිදුහත් කුමරුට වයස අවුරුදු විසි නවයකි.



එදින ඇසළ පුන් පොහොය දිනයකි. රජ සැප හැර දමූ සිදුහත් කුමරා ඡන්න ඇමැති සමග කන්ථක අසු පිට නැඟී මාලිගයෙන් නික්ම ගියේ ය. මෙසේ ගිහිගෙය හැර යාම **මහාභිනිෂ්ක්‍රමණය** ලෙස හැඳින්වෙයි. නොයෙකුත් බාධක මැද සිදුහත් කුමරුන් ගිය මේ ගමන ලෝක සත්ත්වයා දුකින් මුදාලීමට උපකාරී වූ ගමනකි.

පසු දා හිමිදිරියේ **අනෝමා** ගඟෙන් එතෙර වී ගං තෙරට සැපත් වූ බෝසත් කුමරා මඳක් වෙහෙස නිවා තමා විසින් ම කඩුවෙන් හිස කෙස් කපා **ඝටීකාර** බ්‍රහ්මයා විසින් පිළිගන්වන ලද සිවුරු පිරිකර භාර ගෙන පැවිදි විය. රජ ඇඳුම් ඡන්නට භාර කළේ ය.

"ඡන්න මේ අසුත්, ආභරණත් මවුපියන්ට භාර දෙන්න. මා පැවිදි වූ බව මවුපියන්ට දැනුම් දෙන්න," යි බෝසතාණෝ පැවසූහ. තම ස්වාමියා අතහැර යාමේ ශෝකයෙන් කන්ථක අසු ළය පැලී මරණයට පත් විය.

පැවිදි වූ බෝසතාණෝ අනෝමා ගඟ අසබඩ **අනුපිය** නම් වනයෙහි සතියක් විවේකී සුවයෙන් කල්ගත කළහ. පැවිදි ව අට වන දින එතුමාණෝ **රජගහනුවරට** පැමිණ පිඬුසිඟා වැඩියහ. එහි පාලකයා ව සිටි **බිම්බිසාර** රජතුමාට මේ බව දැන ගන්නට ලැබිණි. රජතුමාට බෝසතාණන් පිඬුසිඟා වැඩ **පාණ්ඩව පර්වතය** පාමුල දන් වළඳන බව සැලවිය. එහි පැමිණි බිම්බිසාර රජතුමා තොරතුරු විමසා මේ සිදුහත් කුමරු බව දැන තම රාජ්‍යය දෙකට බෙදා පාලනය කරන්නට ආරාධනය කළේ ය. සිදුහත් බෝසතාණෝ



එම ආරාධනාව ප්‍රතික්ෂේප කළහ. තමා ගිහිගෙය අතහැර දමා දුකින් මිදීමේ මඟ සොයා යන බව එතුමාණෝ රජුට පැහැදිලි කළහ. ඊට ආශීර්වාද කළ බිම්බිසාර රජතුමා ''බුදු බව ලබා පළමු ව මගේ රාජ්‍යයට වඩින්නැ" යි ඉල්ලා සිටියේ ය.

රජුගෙන් සමු ගත් සිදුහත් බෝසතාණෝ පාණ්ඩව පර්වතයෙන් නික්ම **භග්ගව** තවුසා වෙත පැමිණියහ. එතුමාගේ ධර්මය ඉක්මනින් හදාරා තමන් සොයන සත්‍යය එහි නොමැති බව වටහා ගත්හ. පසු ව එතුමාණෝ විශාලා මහනුවර **ආලාරකාලාම** නම් තවුසා වෙත පැමිණියහ; නොබෝ දිනකින් ම ඔහු දැන සිටි ධර්මය අවබෝධ කර ගත්හ. එම දහම අනුව ද තමා සොයන නිවන අවබෝධ කර ගත නොහැකි බව වටහා ගත් සිදුහත් තවුසාණෝ **උද්දකරාමපුත්ත** නම් තවුසාණන් වෙත පැමිණියහ. එතුමන් වෙතින් ද තම අරමුණ ඉටුකර ගත නොහැකි බව තීරණය කළ බෝසතාණෝ තමන් ම උත්සාහ කර නිවන් සෙවීමට අධිෂ්ඨාන කර ගත්හ.

බෝසතාණන් වහන්සේ උරුවේලා ජනපදයේ **සේනානි** නම් නියම් ගමට පැමිණියහ. එහි නේරංජරා ගං තීරය අසල සිත්කලු වන ලැහැබක් තිබුණි. එම පෙදෙස නිවන් ලබා ගැනීම සඳහා පිළිවෙත් පිරීමට සුදුසු තැනක් බව එතුමාණෝ සිතූහ. එබැවින් එහි නැවතී ශරීරයට දැඩි දුක් දෙමින් තවුස් දම් පුරන්නට එතුමාණෝ තීරණය කළහ.

ටික දිනකට පසු ව **කොණ්ඩඤ්ඤ, වප්ප, භද්දිය, මහානාම** හා **අස්සජි** යන තාපසවරු පස්දෙනෙක් එහි පැමිණිය හ. සිදුහත් තවුසාණන් දැන හැඳින ගත් ඔවුහු එතුමන් දුකින් මිදීමේ මඟ සොයා පිළිවෙත් පුරන බව දැන ගත් පසු සතුටු ව එතුමන්ට උපස්ථාන කරමින් එහි ම රැඳී සිටියහ.

සේනානි නියම් ගමට පිඬු සිඟා වැඩ ආහාර වැළඳූ බෝසතාණෝ පසුව සිය ආහාර වේල ක්‍රමයෙන් අඩු කළහ. ඉන් පසුව උන්වහන්සේ තමන් විසූ වන ලැහැබෙන් සොයා ගත් අල වර්ග හා පලවැල පමණක් ආහාරයට ගත් හ. පසුව එය ද බර ආහාරයක් යැයි සිතූ බෝසතාණෝ තමන් සෙවණ ලබා සිටි ගස මුලට වැටෙන කොළ ගෙඩි පමණක් ආහාරයට ගත්හ. මෙසේ ක්‍රමක්‍රමයෙන් ආහාර අඩු කිරීම නිසා බෝසතාණන් වහන්සේගේ ශරීරය අතිශයින් ම කෙට්ටු විය. මුළු සිරුර ම දුර්වල විය. උන් වහන්සේ නොයෙක් වර ක්ලාන්ත වී වැටුණහ. එහෙත් දැඩි අධිෂ්ඨානයෙන් හා වීර්යයෙන් යුක්ත වූ සිදුහත් තවුසාණෝ දිගට ම දුෂ්කර ක්‍රියාවෙහි යෙදුණහ.



සිරුරට අධික දුක් දීමෙන් තමන් සොයන විමුක්තිය ලබා ගත නොහැකි බව එතුමන්ට අවසානයේ දී වැටහිණි. එබැවින් එතුමාණෝ ශරීරය පවත්වා ගැනීමට අවශ්‍ය ප්‍රමාණයට ආහාර ගනිමින් දුෂ්කර තපස් ව්‍රත අතහැර දමා නැවත පිඬුසිඟා වැඩීම ආරම්භ කළහ. වැඩි සැපයත්, වැඩි දුකත් යන දෙක ම නිවන ලබා ගැනීමට මාර්ගය නොවන බව වටහා ගත් බෝසතාණෝ එම අන්ත දෙකට ම නොපැමිණ මැදුම් පිළිවෙත අනුගමනය කළහ. එම පිළිවෙත අනුගමනය කරන්නට වීම නිසා අමනාපයට පත් පස්වග තවුසෝ බෝසතාණන් වහන්සේ හැර දමා බරණැස ඉසිපතනයට ගියහ. බෝසතාණන් වහන්සේ සේනානි නියම් ගමෙහි පිහිටි විශාල නුග ගස මුල වැඩ සිට භාවනා කරමින් තනිව ම කාලය ගත කළහ. මේ වන විට මහබිනික්මනින් වසර හයක් ගත ව තිබිණ. වෙසක් පුන් පොහොයට පෙර දින එළඹිණ.

එදා අලුයම් කාලය එළඹෙත් ම බෝසතාණන් වහන්සේ විවිධ වූ අර්ථ ඇති සිහින පහක් දුටු සේක. අලුයම අවදි වූ උන් වහන්සේ එම සිහින පහ හා

එහි අර්ථය වෙන වෙන ම විමසා බැලූහ. එම සිහිනවල තමන් වහන්සේ නිසැකයෙන් ම බුදු වන බවට පැහැදිලි පෙරනිමිත්තක් වූයෙන් මුහුණ දොවා පිරිසිදු ව පිඬු සිඟා වැඩීමට සුදුසු වේලාව එළඹෙන තුරු ප්‍රසන්න මුහුණින් යුතු ව අජපල් නුග රුක මුල වැඩ සිටි සේක.

ඒ වෙසක් පුර පසළොස්වක පොහොය දිනයකි. පෙර දිනයක සුජාතා නම් සිටු දුව එම නුග රුකේ දේවතාවාට කරන ලද භාරයක් නිදහස් කිරීමේ අදහසින් කිරිබතක් රන් තලියක බහා රැගෙන පැමිණියා ය. සුජාතාව එම රන්තලිය සිදුහත් තවුසාණන්ට පූජා කළා ය. එසේ පූජා කළේ **මගේ අදහස ඉටු වූවා සේ ම ඔබේ අදහස ද ඉටු වේවා** යි යන ප්‍රාර්ථනයෙනි. සුජාතාවගේ කිරිබත් පිළිගත් බෝසතාණන් වහන්සේ නේරංජරා නදියට ගොස් දිය නා එහි ම වැඩ සිට කිරිබත් පිඬු කොට වැළඳූහ. කිරිබත් තිබූ රන් තලිය ගෙන **අද මා බුදු බව ලබන්නේ නම්, මේ තලිය උඩු ගං බලා යේවා** යි අධිෂ්ඨාන කර ගඟෙහි පා කර හැරියේ ය. කෙමෙන් ගඟ මැදට ගිය එම තලිය උඩු ගං බලා ගමන් කළේ ය. සිදුහත් බෝසතාණන්ගේ හිත සතුටට පත් විය. අසල වන ලැහැබකට වැඩි බෝසතාණන් වහන්සේ සවස් වන තෙක් ම විවේක සුවයෙන් කල් ගත කළහ.



සවස් යාමයේ ඇසතු බෝමුල කරා ගමන් ගත් උන් වහන්සේට අතරමග දී **සොත්ථිය** නම් බමුණා මුණගැසුණි. බෝසතාණන් දුටු හෙතෙම ඉතා සතුටට පත් වී තමන් සතු වූ කුසතණ මිටිවලින් අටක් එතුමන්ට පූජා කළේ ය.

බෝමුල කරා ගිය බෝධිසත්වයන් වහන්සේ එම කුසතණ මිටි අට එහි අතුරා චතුරංග සමන්නාගත වීර්යයෙන් යුතු ව විදුරසුනෙන් (වජ්‍රාසනයෙන්) වැඩ සිටියහ. අනතුරු ව **බුද්ධත්වය ලබා මිස නොනැගිටිමි** යි අධිෂ්ඨාන කර, දිවි තොර වුව ද වීර්යය අත් නොහරින බවට ස්ථිර සාර වූ අදහසෙහි පිහිටා ක්‍රියා කළහ. ඒ වනවිට උන් වහන්සේගේ වයස අවුරුදු තිස්පහකි. බෝසතාණන් වහන්සේ ආනාපාන සති භාවනාව වඩමින් සිත **සමාධිගත** කළහ. එදින රාත්‍රියෙහි පෙර අත්බව සිහි කරන නුවණ හෙවත් **පුබ්බේනිවාසානුස්සති ඥාණය** උන් වහන්සේට පහළ විය. මධ්‍යම යාමයේ දී සත්ත්වයන්ගේ උත්පත්තිය හා මරණය සිදු වන ආකාරය දැකීමේ නුවණ හෙවත් **චුතූපපාත ඥාණය** පහළ විය. පශ්චිම යාමයේ දී උන් වහන්සේ පටිච්ච සමුප්පාදය පදනම් කොට ගෙන විදර්ශනා වඩා සියලු කෙලෙස් නසන නුවණ හෙවත් **ආසවක්ඛය ඥාණය** උපදවා ගත්හ. ත්‍රිවිද්‍යා නමින් හැඳින්වෙන මෙම ඥාන තුන උපදවා ගත් සිදුහත් බෝසතාණෝ චතුරාර්ය සත්‍යය අවබෝධ කොට ගෙන සම්මා සම්බුද්ධත්වයට පත් වූහ.



බෝසතාණන් වහන්සේ විමර්ශනශීලි ව ඍජු තීරණ ගනිමින් කටයුතු කළ ආකාරය ඉහත සිදුවීම්වලින් පැහැදිලි වේ. අපි ද බෝසත් චරිතය ආදර්ශයට ගනිමින් ජීවිත අභියෝග ජය ගනිමු.

## සාරාංශය



සිදුහත් කුමරු යසෝදරා කුමරිය සරණ පාවා ගත්තේ ය.

ගිහිගෙයි විසූ සිද්ධාර්ථ කුමරු සතර පෙරනිමිති දැක මහාභිනිෂ්ක්‍රමණය කළේ ය. අනෝමා ගං තෙරින් එතෙර ව ඝටීකාර බ්‍රහ්මයා විසින් පිළිගන්වන ලද සිවුරු පිරිකර හැඳ පැවිදි විය.

සිදුහත් තාපසයාණෝ භග්ගව, ආළාරකාලාම, උද්දකරාමපුත්ත ආදී තවුසන් දත් සියලු දහම ඉතා කෙටි කලකින් ඉගෙන හමාර කළහ. ඒවා තමා සොයන සත්‍යය නොවන බව ද තේරුම් ගත්හ.

බෝසත් සිදුහත් තාපසයාණෝ නේරංජරා ගඟ අසල වන ලැහැබෙහි පස්වග තවුසන්ගේ ද උදවු ඇති ව සය අවුරුද්දක් දුෂ්කර ක්‍රියා කළහ. ශරීරයට දුක් දීමෙන් තමා සොයන සත්‍යය අවබෝධ කර ගත නොහැකි නිසා උන් වහන්සේ මධ්‍යම ප්‍රතිපදාව අනුගමනය කරන්නට වූහ. එමඟින් බෝසතාණෝ සියලු කෙලෙසුන් නසා වෙසක් පුන් පොහෝ දිනක ලොව්තුරා බුද්ධත්වයට පත් වූහ.

## ක්‍රියාකාරකම



01. ඔබ කණ්ඩායමට ලැබී ඇති මාතෘකාව කියවා එම අවස්ථා හා එහි දී මුහුණ දුන් අභියෝග ජය ගත් ආකාරය කෙටියෙන් පැහැදිලි කරන්න.

1. සිදුහත් කුමරුගේ ශිල්ප දැක්වීමේ සිට සතර පෙර නිමිති දැකීම දක්වා
2. මහාභිනිෂ්ක්‍රමණයේ සිට දුෂ්කර ක්‍රියාව දක්වා
3. දුෂ්කර ක්‍රියා කාලයේ සිට බුද්ධත්වය දක්වා

## පැවරුම



පහත සඳහන් පැවරුම් දෙකෙන් ඔබ කැමැති එකක් තෝරා ගන්න.

1. ඔබ මුහුණ දුන් අභියෝගයක් හා එය ජයගත් ආකාරය පිළිබඳ වාර්තාවක් පිළියෙල කරන්න.

2. ඔබගේ මවුපියන් සැනසීමට ඔබට කළ හැකි දේ ලැයිස්තු ගත කරන්න.

## පුහුණුවට



සුඛෝ බුද්ධානං උප්පාදෝ
සුඛා සද්ධම්ම දේසනා
සුඛා සංඝස්ස සාමග්ගී
සමග්ගානං තපෝ සුඛෝ

| | |
|---|---|
| බුදු උපත | සැපතකි |
| සදහම් දෙසුම | සැපතකි |
| සඟ සමගිය | සැපකි |
| සමගි සඟ ගණ තපස | සැපතකි |

# 04 අපි පන්සල් යමු

සූර්යාලෝකය කෙමෙන් කෙමෙන් පොළොවට පතිත වූයේ හිමිදිරි උදෑසන කුරුල්ලන්ගේ නාදයත් සමග ය. පෙර දින ගුරුතුමිය දැනුම් දුන් පරිදි ළමුන් මල්, පහන්, සුවඳ දුම්, ගිලන්පස හා පිරිකර ද හිඳ ගැනීමට සුදුසු ඇතිරිල්ලක් ද අතැති ව වෙනදාට වඩා අලුයමින් පාසල වෙත පිය නැගුවේ විහාරස්ථානයට යන අරමුණිනි.

පෙර දිනයේ දී ගුරුතුමිය පංතියේ සියලු ම සිසුන් කණ්ඩායම් කොට විහාරස්ථානයට ගොස් ඉටු කළ යුතු කාර්යයන් පැවරුවා ය; සිදු කළ යුතු වත් පිළිවෙත් පැහැදිලි කළා ය; ශාසනික වචන හඳුන්වා දී ඒවා සුදුසු පරිදි භාවිත කරන ලෙස ද විහාරස්ථානයේ දී ඔවුන් සිදු කරන සෑම ක්‍රියාවක් ම තමා හොඳින් නිරීක්ෂණය කරන බව ද පැවසුවා ය.

අප විහාරස්ථානයට ගොස් වන්දනාමාන සිදු කරන්නේ කිසිවකුගේ නියමයක් නිසා හෝ කිසිවකු සතුටු කිරීමට හෝ නොවේ. එයින් අපට සිදු වන යහපත සලකාගෙන ය. අපට යහපත සැලසෙන්නේ වඩාත් ශ්‍රද්ධාවෙන් හා ගෞරවයෙන් එම වන්දනාමාන හා පූජා කළ විට ය. මූලික වත්පිළිවෙත් සිදු කරන ආකාරයෙන් ශ්‍රද්ධාවන්ත භාවය පැහැදිලි වේ. **වත් නොපුරන්නා සිල් නොපුරයි** යන කියමන සිහිපත් කළේ ගුරුතුමියයි.

සිසුහු සුදෝ සුදු කොක් රැනක් සේ සුදු වතින් සැරසී එකිනෙකා පසුපස පාසලේ සිට විහාරස්ථානයට පියමන් කළහ. ඔවුන් පූජා භූමියට ඇතුළු වූයේ හිස් වැසුම් පාවහන් ගලවා නියම ස්ථානයේ තබමිනි. ඔවුන් විහාරස්ථානයේ වැඩ සිටි ස්වාමීන් වහන්සේට පළමුවෙන් ම පසඟ පිහිටුවා වැඳ නමස්කාර කළේ තම ගුරුතුමිය අනුගමනය කරමිනි. සියලු දෙනාට ම ආශීර්වාද කිරීමට උන් වහන්සේ අමතක නොකළ සේක. අනතුරුව ඔවුහු පූජා භූමිය පවිත්‍ර කිරීමේ කටයුතුවල නිරත වූහ.



ඔවුන් පරමල් හා මකුළු දැල් ඉවත් කර බුදු මැදුර පිරිසිදු කළ අතර, මළුපෙත් මං ඇමදීමේ දී සෑ මළුව, බෝ මළුව හා විහාර මළුව පිරිසිදු කළේ කොළ රොඩු පමණක් නොව ඇතැම් තැනක තිබූ තණ කොළ ද ඉවත් කරමිනි. අපද්‍රව්‍ය නිසි තැන්වලට දැමීමට කවුරුත් වග බලා ගත්හ.

අනතුරුව ඔවුහු අත් ධෝවනය කර සම්බුද්ධ පූජාවට සුදුසු පරිදි අවශ්‍ය ද්‍රව්‍ය පිළියෙල කළහ. මල් බඳුන් කලාත්මක ව සකස් කර මල් ධෝවනයටත්, භාජන පිරිසිදු වැස්මකින් ආවරණය කර තැබීමටත් කවුරුත් අමතක නොකළහ.

බුදුරජාණන් වහන්සේගේ ශාරීරික ධාතු තැන්පත් කළ වෙහෙර වහන්සේට පළමුවත්, උන් වහන්සේ පරිභෝග කළ බෝධීන් වහන්සේට දෙවනුවත්, බුදුරජාණන් වහන්සේ උදෙසා තැනූ ප්‍රතිමා වහන්සේට තෙවනුවත් සිසුහු වන්දනාමාන කළහ.

පහන්, සුවඳදුම්, මල්, ගිලන්පස ආදී වශයෙන් පූජා ද්‍රව්‍ය පිළිවෙළින් අතගස්වන විට සියලු දෙනාගේ සාධු නාදයට ඝණ්ටා නාදය ද එක් විය.

අනතුරු ව ස්වාමීන් වහන්සේගේ මඟ පෙන්වීමෙන් හඬ නඟා තාලානුකූල ව ගාථා හා පාඨ සජ්ඣායනා කළේ පහත සඳහන් අනුපිළිවෙළට ය.

**නමස්කාරය**

නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස
නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස
නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

**තිසරණ සරණ යාම**

බුද්ධං සරණං ගච්ඡාමි
ධම්මං සරණං ගච්ඡාමි
සංඝං සරණං ගච්ඡාමි

දුතියම්පි බුද්ධං සරණං ගච්ඡාමි
දුතියම්පි ධම්මං සරණං ගච්ඡාමි
දුතියම්පි සංඝං සරණං ගච්ඡාමි



තතියම්පි බුද්ධං සරණං ගච්ඡාමි
තතියම්පි ධම්මං සරණං ගච්ඡාමි
තතියම්පි සංඝං සරණං ගච්ඡාමි

**පන්සිල් සමාදන් වීම**

පාණාතිපාතා වේරමණී සික්ඛාපදං සමාදියාමි
අදින්නාදානා වේරමණී සික්ඛාපදං සමාදියාමි
කාමේසු මිච්ඡාචාරා වේරමණී සික්ඛාපදං සමාදියාමි
මුසාවාදා වේරමණී සික්ඛාපදං සමාදියාමි
සුරාමේරය මජ්ජපමාදට්ඨානා වේරමණී සික්ඛාපදං සමාදියාමි

## බුදු ගුණ සිහි කරන පාඨය

ඉතිපි සෝ භගවා අරහං, සම්මා සම්බුද්ධෝ,
විජ්ජාචරණ සම්පන්නෝ, සුගතෝ,
ලෝකවිදූ, අනුත්තරෝ පුරිසදම්මසාරථී,
සත්ථා දේවමනුස්සානං, බුද්ධෝ, භගවාති.

## දහම් ගුණ සිහි කරන පාඨය

ස්වාක්ඛාතෝ භගවතා ධම්මෝ, සන්දිට්ඨිකෝ,
අකාලිකෝ, ඒහිපස්සිකෝ, ඕපනයිකෝ, පච්චත්තං
වේදිතබ්බෝ විඤ්ඤූහීති.

## සඟ ගුණ සිහි කරන පාඨය

සුපටිපන්නෝ භගවතෝ සාවක සංඝෝ,
උජුපටිපන්නෝ භගවතෝ සාවක සංඝෝ,
ඤායපටිපන්නෝ භගවතෝ සාවක සංඝෝ,
සාමීචිපටිපන්නෝ භගවතෝ සාවක සංඝෝ,
යදිදංචත්තාරි පුරිසයුගානි අට්ඨ පුරිස පුග්ගලා
ඒස භගවතෝ සාවක සංඝෝ, ආහුණෙයොා්,
පාහුණෙයොා්, දක්ඛිණෙයොා්, අංජලිකරණීයෝ,
අනුත්තරං පුඤ්ඤක්ඛෙත්තං ලෝකස්සාති.

## ත්‍රිවිධ චෛත්‍ය වඳින ගාථාව

වන්දාමි චේතියං සබ්බං - සබ්බඨානේසු පතිට්ඨිතං
සාරීරිකධාතු මහා බෝධිං - බුද්ධ රූපං සකලං සදා

## බෝධි වන්දනා ගාථාව

යස්සමූලේ නිසින්නෝව - සබ්බාරි විජයං අකා
පත්තෝ සබ්බඤ්ඤුතං සත්ථා - වන්දේතං බෝධි පාදපං

## පහන් පූජා කරන ගාථාව

සද්ධාය සම්පදිත්තේන -. දීපේන තමධංසිනා
තිලෝක දීපං සම්බුද්ධං - පූජයාමි තමෝනුදං

### සුවඳ දුම් පූජා කරන ගාථාව

සුගන්ධිකාය වදනං - අනන්ත ගුණ ගන්ධිනං
සුගන්ධිනාහං ගන්ධේන - පූජයාමි තථාගතං

### මල් පූජා කරන ගාථාව

පූජේමි බුද්ධං කුසුමේනනේන
පුඤ්ඤේනමේතේන ච හෝතු මොක්ඛං
පුප්ඵං මිලායාති යථා ඉදං මේ
කායෝතථායාති විනාස භාවං

### පැන් පූජා කරන ගාථාව

සුගන්ධං සීතලං කප්පං - පසන්න මධුරං සුභං
පාණීයමේතං භගවා - පතිගන්හාතු මුත්තමං

### ගිලන්පස පූජා කරන ගාථාව

අධිවාසේතු නෝ භන්තේ - ගිලාන පච්චයං ඉමං
අනුකම්පං උපාදාය - පතිගන්හාතු මුත්තමං

### දෙවියන්ට පින් දීම

එත්තාවතාච අම්හේහි - සම්භතං පුඤ්ඤ සම්පදං
සබ්බේ දේවා අනුමෝදන්තු - සබ්බ සම්පත්ති සිද්ධියා

### මියගිය ඥාතීන්ට පින් දීම

ඉදං වෝ ඤාතීනං හෝතු - සුඛිතා හොන්තු ඤාතයෝ
ඉදං වෝ ඤාතීනං හෝතු - සුඛිතා හොන්තු ඤාතයෝ
ඉදං වෝ ඤාතීනං හෝතු - සුඛිතා හොන්තු ඤාතයෝ

### බුද්ධ රත්නය සමා කර ගැනීම

කායේන වාචා චිත්තේන - පමාදේන මයා කතං
අච්චයං ඛම මේ භන්තේ - භූරිපඤ්ඤ තථාගත

### ප්‍රාර්ථනා ගාථාව

ඉමිනා පුඤ්ඤ කම්මේන - මා මේ බාල සමාගමෝ
සතං සමාගමෝ හෝතු - යාව නිබ්බාන පත්තියා

අවසානයේ ස්වාමීන් වහන්සේගේ මග පෙන්වීමෙන් සියල්ලෝ ම මෛත්‍රී භාවනාව වැඩූහ. ශිෂ්‍යයන් විසින් සිදු කරන ලද සත් ක්‍රියාව අගය කරමින් උපදේශාත්මක අනුශාසනාවක් සිදු කිරීමට ස්වාමීන් වහන්සේ අමතක නොකළහ. වතාවත් සිදු කිරීමෙන් ලත් අත්දැකීම් ජීවිතයට එක් කර ගන්නා ලෙසත් සෑම පොදු ස්ථානයක් ම පිරිසිදු ව තබා ගැනීමට වගබලා ගන්නා ලෙසත් උන් වහන්සේ වදාළහ. එසේ ම නිවසේ සියලු දෙනා එක් ව ආගමික වතාවත් සිදු කිරීමට වේලාවක් වෙන් කර ශ්‍රද්ධාවෙන් වන්දනාමාන කළ යුතු බව ද උන් වහන්සේ පැවසූහ. සෑම විට ම විහාරස්ථානයේ ස්වාමීන් වහන්සේ ඇසුරු කරමින් දහම් පාසල් අධ්‍යාපනයට යොමු වී ගුණ ගරුක දරුවන් සේ ක්‍රියා කරන ලෙස ද උන් වහන්සේ සිහිපත් කළහ. අවසානයේ සාධුකාර මධ්‍යයේ පිරිකර පූජාව සිදු විය. ස්වාමීන් වහන්සේගේ දෙපා වැඳ සියලු දෙනා ම අවසර ගත්හ. පූජා ද්‍රව්‍ය සහිත භාජන පිරිසිදු කිරීමෙන් අනතුරුව ශිෂ්‍ය ශිෂ්‍යාවන් ගුරුතුමිය සමග පාසලට පැමිණියේ වෙන දා නොවූ තරම් ප්‍රබෝධයකිනි.

## සාරාංශය



- ★ පන්සලට ගොස් සිදු කරනු ලබන වතාවත් අවබෝධයෙන් හා ශ්‍රද්ධාවෙන් සිදු කිරීම
- ★ පිළිවෙළින් ශාරීරික, පාරිභෝගික, උද්දේසික චෛත්‍ය වන්දනා කිරීම
- ★ බුද්ධ වන්දනාව සඳහා දවසේ වෙලාවක් වෙන් කර අර්ථාන්විත ව හා ගෞරවාන්විත ව එය සිදු කිරීම
- ★ ස්වාමීන් වහන්සේ ඇසුරින් ජීවිතය යහපත් කර ගැනීම
- ★ දහම් පාසල් අධ්‍යාපනයට යොමු වීම

## ක්‍රියාකාරකම



01. විහාරස්ථානයට ගොස් වන්දනාමාන කරන අනුපිළිවෙළ කුමක් ද?
02. ඉතිපිසෝ.... පාඨය නිවැරැදි උච්චාරණයෙන් යුතු ව සජ්ඣායනා කරන්න.
03. විහාරස්ථානයේ දී අප අනුගමනය කළ යුතු වතාවත් ඇතුළත් ලේඛනයක් පිළියෙල කරන්න.

## පැවරුම



බුදුරජාණන් වහන්සේ හා ස්වාමීන් වහන්සේ සම්බන්ධයෙන් භාවිත කිරීමේ දී පහත සඳහන් වචනවලට අදාළ ශාසනික වචන ලියා දක්වන්න

- වතුර ____________
- කෑම ____________
- කනවා ____________
- යනවා ____________
- වැඩි වෙනවා ____________
- නිදනවා ____________

# 05 පතුරමු සැමට මෙත් සිත්

අප ජීවත් වන සමාජය විවිධ පුද්ගලයින්ගෙන් සමන්විත ය. එහි වෙසෙන්නෝ විටෙක කෙනකුගේ දියුණුව ප්‍රාර්ථනා කරති; දුකක් කරදරයක් සිදු වූ විට එය තමාට වූ දෙයක් සේ සිතා ක්‍රියා කරති; පිරිසක් මිතුරු ස්වභාවය පෙන්වා සතුරුකම් කරති; දියුණුවට අකුල් හෙළති; දුක් කරදරයක දී මඟ හරිති. මේ විෂම වූ සමාජයේ කවර පුද්ගලයකු සමග වුව ද සාමයෙන් ජීවත් වීමට අපට හැකියාව තිබිය යුතු ය. ඒ සඳහා අප තුළ මෛත්‍රිය හෙවත් මිතුරු සිතක් තිබිය යුතු ය. එය පියවරෙන් පියවර ගුණ ධර්මයක් සේ ප්‍රගුණ කළ යුත්තකි. එවිට ජීව අජීව වස්තූන්ට මෙන් ම සියලු ලෝ වැසියන්ට ද මෛත්‍රිය හෙවත් මිතුරු බව පැතිර විය හැකි ය.



මෛත්‍රී භාවනාව වැඩීමට පාසලේ දී අපට බුදු මැදුර භාවිත කළ හැකි ය. විහාරස්ථානයකට ගොස් භාවනා වැඩීම වඩා සුදුසු ය. එහි දී පළමු ව ස්ථානය අතුපතු ගා පිරිසිදු කළ යුතු ය. ශිෂ්‍යයකු නම් **බද්ධ පර්යංකයෙන්** ද (එරමිණිය ගොතා) ශිෂ්‍යාවක නම් **අර්ධ පර්යංකයෙන්** ද (පාද පසු පසට නමා) හිඳ ගන්න. නමස්කාර පාඨය කියවා තෙරුවන් සරණ ගොස් පන්සිල් සමාදන් වී භාවනාව මෙසේ ආරම්භ කරන්න.

**පියවර 1**

මම නිදුක් වෙම්වා !
නීරෝගී වෙම්වා !
සුවපත් වෙම්වා !

(මෙසේ කියමින් සිතින් මෙනෙහි කරමින් තමාට මෛත්‍රිය කිරීමට පුහුණු වන්න.)

**පියවර 2**

මම නිදුක් වෙම්වා !
නීරෝගී වෙම්වා !
සුවපත් වෙම්වා!
මා මෙන් ම,
මාගේ මවුපිය ගුරුවර හිතමිතුරෝ ද
නිදුක් වෙත්වා !
නීරෝගී වෙත්වා !
සුවපත් වෙත්වා !

(මෙසේ තම මවුපියන්ට, ගුරුවරුන්ට, හිතවතුන්ට මෛත්‍රිය පතුරුවන්න.)

**පියවර 3**

මම නිදුක් වෙම්වා !
නීරෝගී වෙම්වා !
සුවපත් වෙම්වා!
මා මෙන් ම මාගේ මවුපිය ගුරුවර හිතමිතුරෝ ද මැදිහත් අය ද,
නිදුක් වෙත්වා !
නීරෝගී වෙත්වා !
සුවපත් වෙත්වා!

(මෙසේ මැදිහත් අයට ද මෛත්‍රිය පතුරුවන්න.)

**පියවර 4**

මම නිදුක් වෙම්වා !
නීරෝගී වෙම්වා !
සුවපත් වෙම්වා!
මාගේ මවුපිය ගුරුවර හිතමිතුරෝ ද
මැදිහත් අය ද, හිතවත් අය ද, අහිතවත් අය ද,
නිදුක් වෙත්වා !
නීරෝගී වෙත්වා !
සුවපත් වෙත්වා !

(මෙලෙස අහිතවත් අයට ද මෛත්‍රිය පතුරුවන්න)

**පියවර 5**

මම නිදුක් වෙම්වා !
නීරෝගී වෙම්වා !
සුවපත් වෙම්වා !
මා මෙන් ම සියලු සත්ත්වයෝ
නිදුක් වෙත්වා !
නීරෝගී වෙත්වා !
සුවපත් වෙත්වා !

(මෙලෙස සියලු ම සතුන්ට මෛත්‍රිය පතුරුවන්න)

මේ අයුරින් හොඳින් භාවනා කිරීමට පුරුදු වූ පසු මෙත් සිත ඔබ තුළ තහවුරු වෙයි. ගැටෙන සුලු සිතුවිලි තුරන් වී ඔබ සැමගේ මිතුරකු බවත් හැම දෙනා ම ඔබේ මිතුරන් බවත් ඔබට දැනෙන්නට පටන් ගනී.

මෙත් සිත ඇති තැනැත්තා සුවසේ නිදයි. සුවසේ පිබිදෙයි. පාපී සිහින නොදකියි. මනුෂ්‍යයන්ට ප්‍රිය වේ. අමනුෂ්‍යයන්ට ද ප්‍රිය වේ. දෙවියෝ මෙත් සිත් ඇත්තා රැක ගනිති. ඔහුට ගින්නෙන්, වස විසෙන්, අවි ආයුධවලින් හානියක් වන්නේ නැත. ඔහුගේ සිත ඉක්මනින් සමාධිගත වෙයි. මුහුණ පැහැපත් වේ. හෙතෙම මුලාවෙන් තොර ව මිය යයි. මරණින් මතු බඹලොව උපදියි. මෙසේ මෙත් වැඩීමේ අනුසස් 11 ක් ඇතැයි බුදු දහමේ සඳහන් වේ. ළමා කාලයේ සිට ම අපි මෙත් වැඩීමට පුරුදු වෙමු.

## සාරාංශය

සියලු සතුන් කෙරෙහි මිතුරු සිතින්, හිතවත් ව ක්‍රියා කිරීම මෛත්‍රියයි. මෙය භාවනාවක් වශයෙන් ප්‍රගුණ කළ හැකි ය. පාසලේ දී හෝ විහාරස්ථානයේ දී මූලික ආගමික වතාවත් සිදු කර තෙරුවන් සරණ සහිත පංච ශීලය සමාදන් ව භාවනාවට පිවිසෙන්න. ඕනෑ ම ඉරියව්වක් මේ සඳහා භාවිත කළ හැකි ය. පියවරෙන් පියවර භාවනා වඩා සියලු ලෝක සත්ත්වයාට ම මෛත්‍රිය පතුරුවන්න. මෛත්‍රී කරන පුද්ගලයාට මෙලොව දී ලැබෙන ආනිශංස රාශියකි. පරලොව ආනිශංස ද ලැබේ. අපි සතුරු මිතුරු සැමට මෛත්‍රී කිරීමට පුරුදු වෙමු.

## ක්‍රියාකාරකම

1. මෛත්‍රිය යන්නෙන් අදහස් කෙරෙන්නේ කුමක් දැයි පැහැදිලි කරන්න.
2. මෛත්‍රී භාවනාව වඩන පිළිවෙළ පෙන්වා දෙන්න.
3. මෛත්‍රී භාවනාවේ ආනිශංස පහක් ලියන්න.

## පැවරුම

1. දින හතක් මෛත්‍රී භාවනාව වඩා ඔබ තුළ ඇති වෙන වෙනස්කම් පොතක සටහන් කරන්න.

# 06 රාහුල පොඩි හාමුදුරුවෝ

බෝසත් සිදුහත් කුමරුගේ හා යසෝදරා දේවියගේ එක ම පුතු වූයේ රාහුල කුමරු ය. පුත් කුමරු උපන් දින ම පියාණන් වූ සිද්ධාර්ථ බෝසතාණන්ගේ ගිහිගෙය හැර යාම හෙවත් මහබිනික්මන සිදු විය. සිදුහත් බෝසතාණන් වහන්සේ බුද්ධත්වයට පත් වූ පසු එළඹි වෙසක් පුර පසළොස්වක පොහෝ දිනයේ කිඹුල්වතට වැඩි සේක. ඒ පියරජුගේ ඉල්ලීම පරිදි ය. භික්ෂූන් වහන්සේ පිරිවරා ගෙන බුදුරජාණන් වහන්සේ වඩිනු දුටු යසෝදරා දේවියට ඇති වූයේ මහත් සතුටකි. රාහුල පුතු ඔසවා ගත් ඇය උඩු මහලට දිව ගියා ය. සිය පුතුට බුදුපියාණන් වහන්සේ හඳුන්වා දුන්නේ මෙසේ ය.

"මා ආදර රාහුල පුතණුවනි, රන් නෙළුම් මලක හැඩය ඇති රන්වන් පාදතලයක් ඇති ව මහ පොළොවට නොදැනෙන සේ මහපොළොව මුළු පාදතලයෙන් ම සිපගන්නා ආකාරයට වඩින්නේ ඔබගේ පියාණන් වහන්සේ ය. ඒ ඔබගේ පියාණන් වහන්සේ කොතරම් ලස්සන ද?" ආදි වශයෙන් ඇය ගාථා නවයකින්



බුදු සිරුර වර්ණනා කළා ය. නරසීහ ගාථා යනු ඒවා ය. අනතුරුව රාහුල මාතාව සිය පුතු අමතා,

"පුත රාහුල, මෙහි එන්න. ඒ ඔබේ පියාණන් ඉදිරියට යන්න. පියාණන්ගෙන් ඔබට ලැබිය යුතු දායාදය ඉල්ලා ගන්න." යි කියා සිටියා ය.

මවගේ වදන් ඇසූ කුඩා රාහුල පුතණුවන් බුදුරජාණන් වහන්සේ ඉදිරියේ පෙනී සිටියේ මෙසේ කියමිනි.

"මහා ශ්‍රමණයන් වහන්ස, ඔබ වහන්සේගේ සෙවණැල්ලත් මට සැප ය. පිය කෙනෙකුගෙන් උරුම විය යුතු දේ ලබා දෙනු මැනැවි."

මෙසේ කියමින් රාහුල කුමාරයා බුදුරජාණන් වහන්සේගේ අතෙහි එල්ලී උන් වහන්සේ සමග ම ගමන් ගත්තේ ය. බුදුරජාණන් වහන්සේ වැඩම කළේ කිඹුල්වත් නුවර නිග්‍රෝධාරාමය වෙත ය. එහිදී රාහුල කුමරු ඇමතූ උන් වහන්සේ,



"රාහුලය, මම ඔබට මගෙන් ලැබිය යුතු උරුමය දෙමි"යි පවසා කුමරු සැරියුත් මහරහතන් වහන්සේ වෙත යොමු කොට පැවිදි කරවන ලෙස දැනුම් දුන්හ. කුමරුවාණෝ පැවිදි වීමෙන් පසු රාහුල හාමුදුරුවෝ ලෙස ප්‍රසිද්ධියට පත් වූහ.

කුඩා රාහුල කුමරු මවු සහ තම සීයා වූ සුද්ධෝදන රජු ඇතුළු රජගෙදර අයගේ හොඳ හිත හා ආදරය දිනා සිටියේ ය. එසේ ම පැවිදි වීමෙන් පසු ද බුදු පියාණන් ඇතුළු සඟරුවනෙහි සිත් දිනා ගත්තේ ය. රාහුල පොඩි හාමුදුරුවෝ මැනැවින් බණ දහම් ඉගෙන ගත්හ. වැඩි කල් යන්නට මත්තෙන් උන් වහන්සේ

ඉතා සංවර ගති ඇති කීකරු හිමි නමක් වූහ. හැම විට ම ගුරුවරුන්ගේ අවවාද ලබා සිහියෙන් යුතු ව ක්‍රියා කළහ. අවවාද අනුශාසනා ලබා ගැනීමට උන් වහන්සේ කොතරම් ඇල්මක් දැක්වී ද කිවහොත් දිනපතා පාන්දරින් නැගිට වැලි දෝතක් ගෙන එය අහසට දමා මෙසේ ප්‍රාර්ථනා කළහ.

"මේ වැලි දෝතේ වැලිකැට ප්‍රමාණයට මට ගුරුවරුන්ගේ අවවාද ලැබේවා!" රාහුල පොඩි හාමුදුරුවන්ගේ විනීත භාවය දුටු සමහර හාමුදුරුවරු උන් වහන්සේගේ එම ශික්ෂාකාමිත්වය පිරික්සීමට උන් වහන්සේ මළුපෙත් ඇමදීමෙන් පසු කුණු ගෙනවුත් එහි තැන තැන දමති; කොසු ඉදල් තැන තැන දමති; එසේ කොට රාහුල හිමියන්ට ඇසෙන සේ මෙසේ කියති;

"පෙනේ ද රාහුල මිදුල ඇමද තිබෙන ආකාරය?"
"පෙනේ ද රාහුල කොසු ඉදල් දමා තිබෙන හැටි?"

මේවා ඇසූ කුඩා රාහුල හාමුදුරුවන් වහන්සේ කිසි විටෙක තමාගේ නිදොස්කම පිළිබඳ ව ප්‍රකාශ කිරීමට නොගියහ. නොපමා ව පැමිණ කොසු ඉදල් ආදිය නියම තැන තබා මලුව පිරිසිදු කළහ. භික්ෂූන් වහන්සේ වෙත වැඩම කර වැඳ සමා කර ගත්හ.

දිනක් සැරියුත් තෙරුන් වහන්සේ උන් වහන්සේගේ මවුතුමියගේ නිවසට රාහුල පොඩි හාමුදුරුවන් සමඟ පිඬු සිඟා වැඩියහ. බෞද්ධ කාන්තාවක නොවූ මෙම මව උන් වහන්සේලා දෙනමට ම දොස් කියමින් පිණ්ඩපාත ආහාර පිළිගැන්වූවා ය. සැරියුත් හාමුදුරුවන් හෝ රාහුල හාමුදුරුවන් හෝ එයට කෝප වූයේ නැත. බුදුරජාණන් වහන්සේ මේ පිළිවෙත ප්‍රශංසාවට ලක් කළහ.

එක් සමයෙක රාහුල පොඩි හාමුදුරුවෝ අම්බලට්ඨිකා ආවාසයෙහි වැඩ වෙසෙන කල්හි බුදුරජාණන් වහන්සේ රජගහ නුවර වේළුවනයෙහි වැඩ වාසය කළහ. දිනක් බුදුරජාණන් වහන්සේ අම්බලට්ඨිකාවට වඩිනු දුටු රාහුල පොඩි හාමුදුරුවන් විසින් වහා ම උන් වහන්සේට වැඩ සිටීමට අසුනක් පනවා සිරිපා ධෝවනය කිරීම සඳහා පැන් භාජනයක් ද තබන ලදි.

බුදුරජාණන් වහන්සේ අසුනෙහි වැඩ හිඳ සිරිපා ධෝවනය කර ගත් පසු ව රාහුල පොඩි හාමුදුරුවෝ උන් වහන්සේට වන්දනා කළහ. අනතුරුව පා ධෝවනයට ජලය තැබූ භාජනය උපමා කර ගනිමින් බුදුරජාණන් වහන්සේ දෙසූ දහමෙහි පහත සඳහන් කරුණු ද ඇතුළත් විය.

- ⋆ දැන දැන ම බොරු කීමට ලජ්ජා නැති තැනැත්තාගේ මහණකම භාජනයක පතුලේ ඉතිරි ව තිබෙන ජලය ස්වල්පයක් මෙන් හීන වූවකි.

- ⋆ දැන දැන ම බොරු කීමට ලජ්ජා නැති තැනැත්තාගේ පැවිද්ද භාජනයෙන් ඉවත දැමූ ස්වල්ප ජලය මෙන් ඉවත දැමූවකි.

- ⋆ දැන දැන ම බොරු කීමට ලජ්ජා නැති තැනැත්තාගේ මහණකම යටිකුරු කරන ලද භාජනයක් මෙන් කිසි ගුණ දහමක් නොපිහිටන්නකි.

- ⋆ දැන දැන ම බොරු කීමට ලජ්ජා නැති තැනැත්තාගේ මහණකම උඩුකුරු කරන ලද ජලය නැති භාජනය මෙන් හිස් වූවකි.

මේ නිසා විහිළුවටවත් බොරු කියන පුරුද්දක් ඇති නොකර ගත යුතු බවට බුදුරජාණන් වහන්සේ අනුශාසනා කළහ. රාහුල පොඩි හාමුදුරුවෝ එම අනුශාසනාව ගෞරවයෙන් පිළිගත්හ. බුදුරජාණන් වහන්සේ එහි දී රාහුල පොඩි හාමුදුරුවන්ගෙන් මෙසේ ද විමසූහ.

"රාහුලයනි, කැඩපතින් ඇති ප්‍රයෝජනය කුමක් ද ?"

"ස්වාමීනි, එය අවශ්‍ය වන්නේ තමාට තමා විමසා බැලීම පිණිසයි."

"රාහුලය, ඔබ නිවැරැදි ය, එසේ ම ඔබ කිසි යම් කටයුත්තක් කරන්නේ ද එය වඩා පරීක්ෂාවෙන් නැවත නැවත සොයා බලා කළ යුතු ය."

"එසේ ම ඔබ වචනයෙන් යමක් කියන්නේ නම් හොඳින් විමසා බලා කිව යුතු ය. සිතින් යම් සිතුවිල්ලක් සිතන්නේ ද ඒ පිළිබඳ ව නැවත විමසිය යුතු ය." බුදුරදුන්ගේ අවවාද නිමාවෙත් ම හිරු එළිය දුටු විට නෙළුම් මලක් පිබිදෙන්නාක් මෙන් රාහුල පොඩි හාමුදුරුවන්ගේ මුහුණ බබළන්නට විය.

"රාහුල ඔබ අතින් යම් වැරැද්දක් සිදු වූවා නම් එය ශාස්තෲන් වහන්සේට හෝ එකට වැඩ වෙසෙන භික්ෂූන් වහන්සේ නමකට හෝ පවසන්න. එසේ පවසා එම වැරැද්ද නැවත නොකරන බවට අදිටන් කරගෙන සංවර වන්න." රාහුල හාමුදුරුවෝ මෙම බුද්ධාවවාදය ඉතා සතුටින් පිළිගත්හ.

ගුණ නුවණින් හා දැන උගත්කමින් දිනෙන් දින වැඩුණු රාහුල හාමුදුරුවෝ බුදුරජාණන් වහන්සේ විසින් දේශනා කරන ලද චුල්ලරාහුලෝවාද සූත්‍රය අසා සියලු කෙලෙසුන් නසා රහත් බවට පත් වූහ. පසු ව බුදුරජාණන් වහන්සේ රාහුල හාමුදුරුවන්ට **ශික්ෂාකාමී** භික්ෂූන් අතර අග තනතුර පිරිනැමූ සේක. එතැන් පටන් උන් වහන්සේ රාහුල මහරහතන් වහන්සේ නමින් ප්‍රසිද්ධියට ද පත් වූ සේක.

**කීකරුකම, අවවාද පිළිගැනීම, ඇත්ත කථා කිරීම, හරි වැරැදි හඳුනා ක්‍රියා කිරීමට හැකි වීම, අනතිමානී** බව රාහුල හාමුදුරුවන්ගේ චරිතයෙන් අපට ලබා ගත හැකි ආදර්ශ කිහිපයකි. මේ ගුණ දහම් අපගේ ජීවිතවලට ඇතුළත් කර ගෙන ජීවිත ආලෝකවත් කර ගනිමු.

## සාරාංශය

සිදුහත් කුමරුගේ සහ යසෝදරා දේවියගේ පුතා රාහුල කුමරු ය. මේ කුමරු පැවිදි වීමෙන් පසු රාහුල හාමුදුරුවන් නමින් ප්‍රසිද්ධ විය. කීකරුකම, අවවාද පිළිගැනීම, ඇත්ත කථා කිරීම, හරි වැරැදි හඳුනා ක්‍රියා කිරීමට උත්සාහ කිරීම, අනතිමානී බව රාහුල හාමුදුරුවන්ගේ චරිතයෙන් ගත හැකි ආදර්ශයන් ය. බුදුරජාණන් වහන්සේ දේශනා කළ චුල්ලරාහුලෝවාද සූත්‍රය ඇසීමෙන් රහත් ඵලයට පත් රාහුල හාමුදුරුවෝ රාහුල මහරහතන් වහන්සේ ලෙස ප්‍රසිද්ධියට පත් වූ අතර ශික්ෂාකාමී භික්ෂූන් අතර අගතනතුරට ද පත් වූහ.

## ක්‍රියාකාරකම



1. රාහුල හාමුදුරුවන්ගේ චරිතයෙන් ඔබේ ජීවිතයට ගත හැකි ආදර්ශ හතරක් නම් කරන්න.

2. රාහුල කුමාරයාට බුදුරජාණන් වහන්සේගෙන් ලැබුණු දායාදය කුමක් ද?

3. රාහුල හාමුදුරුවන්ගේ චරිතයෙහි ඔබ සිත් ගත් අවස්ථාවක් චිත්‍රයට නගන්න.

## පැවරුම



1. ඔබ කරන හොඳ වැඩ දිනපතා ම සාධු චර්යා පොතේ සටහන් කර මවුපියන්ට පෙන්වා අත්සන් කර ගන්න.

2. නරසීහ ගාථා තාලානුකූල ව ගායනා කරන්න.

# 07 දියුණුවේ රන් දොරටු

ඈත අතීතයේ දඹදිව බරණැස් නම් නුවරක් විය. එක් කලෙක එහි රජ කළේ බ්‍රහ්මදත්ත නම් රජ කෙනෙකි. එකල බොහෝ සම්පත් ඇති පින්වත් සිටුවරයෙක් විය. ඔහුට ඉතා බුද්ධිමත් පුතෙක් සිටියේ ය. හෙතෙම ඉගෙනීමට මහත් උනන්දුවක් ඇත්තෙකි. එම දරුවාගේ ඉතා වැදගත් ලක්ෂණයක් විය. එනම් **තමා නො දන්නා දෙය ගුරු දෙගුරුන්ගෙන් හා වෙනත් වැඩිහිටියන්ගෙන් අසා දැන ගැනීමයි.** ඔහු නිතර ම විමසුවේ දැන ගත යුතු වැදගත් කරුණු ගැනයි. දිනක් හෙතෙම තම පියාගෙන් මෙසේ ඇසී ය.



"පියාණෙනි, මා බොහොම කැමැතියි දියුණුවීම සඳහා වුවමනා කරන කරුණු දැන ගන්න. කරුණාකර ඒවා මොනවා දැයි කියා දෙන්න පුළුවන් ද?"

දරුවකු යමක් ඇසූ විට බොහොම සැලකිල්ලෙන් පිළිතුරු දීම බුද්ධිමත් මවුපියන්ගේ ගතියකි. එබැවින් එම පියා ඉතා හොඳින් සිතා බලා පුතාට අගනා පිළිතුරක් දුන්නේ ය. දියුණු වීම සඳහා ප්‍රධාන දොරටු හයක් ඇති බව හෙතෙම පැවසී ය. දියුණු වීමේ දොරටු නම් දියුණු වීම සඳහා අවශ්‍ය කරුණු ය. පියා පුතාට කියා දුන් එම කරුණු සය මෙසේ ය.

1. නීරෝග බව
2. සිල්වත් බව
3. වැඩිහිටියන්ගේ උපදෙස් ලැබීම
4. හොඳ ඉගෙනීමක් තිබීම
5. දැහැමි ව ජීවත් වීම
6. කම්මැලි නොවීම

අප ගිලන් වූ විට පාඩම් කළ නොහැකි ය. වෙනත් වැඩක යෙදීම ද අපහසු ය. කොපමණ සම්පත් තිබුණත් ඒවායින් නිසි ප්‍රයෝජන ගත නොහැකි ය. අලුතින් යමක් උපයා ගැනීමට ද හැකි නොවේ. පින් දහම් ආදී හොඳ වැඩ කිරීම ද අපහසු ය. එසේ වූ විට දියුණුවක් ඇති නොවේ. **නීරෝගී බව (ආරෝග්‍ය)** දියුණුවට අවශ්‍ය ප්‍රධාන කරුණක් ලෙස දැක්වූයේ එබැවිනි.

අප ජීවත් වන්නේ තනිය ම නොවේ, පිරිසක් සමග ය. සමාජයක ජීවත් වන විට අප කරන කියන දේ ඒ සමාජයට ද බලපායි. එබැවින් කථා කිරීමේ දී හා වැඩ කිරීමේ දී පරිස්සම් විය යුතු ය. සිතට එන හැම දෙයක් ම කීම හෝ කිරීම සුදුසු නැත. සමාජයේ ඇති හොඳ සිරිත් හඳුනා ගෙන ඒවාට ගරු කිරීමට සිදු වෙයි. පන්සල, පාසල වැනි තැන්වල හැසිරෙන ආකාරය ඒ ඒ තැන්වලට සුදුසු විය යුතුයි. ඒවා දැනගෙන ලජ්ජා භය ඇති ව ජීවත්වීම දියුණුවට හේතු වෙයි. එබැවින් **ශීලාචාරකම (සීලං)** දියුණුවේ දොරටුවක් ලෙස දක්වා ඇත.

කළ යුතු නොකළ යුතු දේ ගැන කුඩා අයට වඩා වැඩි දැනීමක් වැඩිහිටි අයට ඇත. ගුණ නුවණින් හා වයසින් වැඩි අය අප අතර සිටිති. ඇතැම් වැඩිහිටියන් පොතපත ඉගෙනීමෙන් දැනුම ලබාගෙන ඇත. ඇතැම් අයට සමාජයේ ජීවත්වීමෙන් ලැබුණු දැනුමක් ඇත. ඒ අයගේ උපදෙස් ලබා ගැනීම

ප්‍රයෝජනවත් ය. විශේෂයෙන් අපේ ළඟ ම වැඩිහිටියන් වන මවුපියන්ගෙන් හා ගුරුවරුන්ගෙන් අප ඉගෙන ගත යුතු දේ ඇත. අප කරන වැඩ එබඳු **වැඩිහිටියන්ගේ උපදෙස් හා අනුමැතිය ද (වුද්ධානුමතං)** ඇතිව කළ යුතු ය. එසේ කිරීම දියුණුවට උපකාර වේ.

ඉගෙනීමෙන් තොර ව ද දියුණු විය නොහැකි ය. දිනපතා පාසලෙන්, දහම් පාසලෙන්, පොත පත කියවීමෙන්, බණ ඇසීම ආදියෙන් අපි දැනුම ලබා ගනිමු. එය දියුණු වීමට උපකාර වේ. එම නිසා **බහුශ්‍රැතකම හෙවත් හොඳට ඉගෙන ගෙන තිබීම (සුතං)** දියුණුවට අවශ්‍ය ප්‍රධාන කාරණයකි.

මිල මුදල් තිබුණු පමණින් කෙනෙකු දියුණු පුද්ගලයෙක් නොවේ. ගුණ ධර්ම ද ඔහු තුළ තිබිය යුතු ය. සතුන් මැරීම, සොරකම් කිරීම, දුම්බීම, සුරාපානය ආදී දුසිරිත්වලට පුරුදු වූ තැනැත්තාට පිරිහීමක් මිස දියුණුවක් නොවේ. එබැවින් **දැහැමි ව ජීවත්වීම (ධම්මානුවත්ති)** දියුණුවේ දොරටුවක් ලෙස දක්වෙයි.

කම්මැලි වුව හොත් පාඩම් කළ නොහැකි ය. ගොවිතැන් වෙළෙඳාම් ආදිය ද කළ හැකි නොවේ. සිල් රැකීම, භාවනා කිරීම් ආදියට ද කම්මැලිකම බාධාවකි. එනිසා **කම්මැලි නැතිකම (අලීනතා)** හෙවත් අලීනතාව දියුණුවට අවශ්‍ය ම දෙයකි.

තම පියාගෙන් මෙම කරුණු දැනගත් දරුවා කුඩා කල සිට ම ඒ අනුව කටයුතු කළේ ය. ඒ නිසා සැප සම්පත්වලින් මෙන් ම ගුණ නුවණින් ද දියුණු පුද්ගලයෙක් විය. එසේ දියුණු වීමට හැකි වූයේ කරුණු දැන ගැනීමෙන් පමණක් නොනැවතී නීරෝගකම ආදිය ඇති වන ලෙස කටයුතු කළ බැවිනි.

මෙය පන්සිය පනස් ජාතක පොතෙහි එන එක් කථා වස්තුවකි. එය අත්ථස්සද්වාර ජාතකයයි. **අත්ථස්සද්වාර** යන්නෙහි තේරුම **දියුණුවේ දොරටු** යන්නයි. එදා බුද්ධිමත් පියා ලෙස උපත ලබා සිටියේ අප මහ බෝසතාණන් වහන්සේ ය.

අපිත් කුඩා කල සිට ම නොදන්නා දේ දන්නා අයගෙන් අසා දැන ගැනීමට පුරුදු වෙමු. හොඳ සෞඛ්‍ය පුරුදු ඇති කර ගෙන නීරෝගකම රැක ගනිමු. ලජ්ජා භය ඇති ව ශීලාචාර ලෙස ජීවත් වෙමු. වැඩිහිටියන්ගේ වැදගත් උපදෙස් පිළිගනිමු. ඒ අයගේ අනුමතය ඇති ව ම කටයුතු කිරීමට උත්සාහ

කරමු. සතුන් මැරීම සොරකම් කිරීම වැනි නපුරු ගතිවලිනුත් දුම්බීම වැනි දුසිරිත්වලිනුත් වෙන් වෙමු. අලස නොවී මහන්සියෙන් හොඳට ඉගෙන ගනිමු. එවිට අපට ද දියුණුවේ රන් දොරටු ඇරෙනු ඇත.

## සාරාංශය



පුද්ගලයකුගේ දියුණුව සඳහා උපකාරී වන කරුණු හයක් අත්ථස්සද්වාර ජාතකයෙහි පෙන්වා දී ඇත.

දියුණුවේ දොරටු ලෙස හැඳින්වෙන එම කරුණු හය නම්,

1. නීරෝග බව
2. සිල්වත් බව
3. වැඩිහිටියන්ගේ උපදෙස් ලැබීම
4. හොඳ ඉගෙනීමක් තිබීම
5. දැහැමි ව ජීවත්වීම
6. කම්මැලි නොවීම යි.

## ක්‍රියාකාරකම



1. දියුණුවේ දොරටු සය නම් කරන්න.
2. කම්මැලිකම දියුණුවට බාධාවක් වන බවට කරුණු තුනක් ලියන්න.



## පැවරුම

1. පුහුණුවට ඇති කවිය පැහැදිලි ව ලියා ඔබේ නිවසේ පෙනෙන තැනක එල්ලා තබන්න



## පුහුණුවට

ආරොග්‍යමිච්ඡේ පරමංච ලාභං
සීලං ච වුද්ධානුමතං සුතං ච
ධම්මානුවත්තී ච අලීනතා ච
අත්ථස්ස ද්වාරා පමුඛා ඡළෙතෙ

නිරෝගි බව සිල්වත්කම වැඩිහිටි උපදෙස් ලැබීම
දහම් කරුණු සමග වෙනත් දැයත් ඉගෙන ගෙන තිබීම
දුසිරිත් දුරුකර හැම විට අලස නොවී වැඩ කිරීම
දෙලොව ම දියුණුව සලසන කරුණු සයකි අනගි බෝම

# 08 දිවි මග සරු කරන සීලය

සසර දුක් සහිත ය. උපතත් සමග ඇතිවන ලෙඩ වීම, මහලු වීම, මරණය ආදී අප්‍රසන්න කටුක අත්දැකීම්වලින් යුක්ත ය. එකී සසර දුකින් අත්මිදීමේ මග බුදු දහමේ දැක්වේ. සංසාරගත ජීවිතය තුළ වුව ද නිරවුල් ව ප්‍රීතිමත් ව නීරෝගී ව හා සාමකාමී ව ක්‍රියා කරන්නට අවශ්‍ය මාර්ගෝපදේශනය බුදු දහමේ ඇතුළත් වේ. සැපවත් ව ජීවත් වීමටත් සසර දුකින් අත්මිදීමටත් උපකාර වන මාර්ගය බුදුරජාණන් වහන්සේ විසින් වදාළ ආර්ය අෂ්ටාංගික මාර්ගයයි. එය දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ආර්ය සත්‍යය නම් වේ.

අංග අටකින් සමන්විත ආර්ය මාර්ගය හෙවත් නිවන් මග සීල, සමාධි හා ප්‍රඥා වශයෙන් ශික්ෂා තුනකට බෙදා දක්වා ඇත. මෙය ත්‍රිශික්ෂාව ලෙස ද හැඳින්වේ. අප මෙහි දී අවධානය යොමු කරනු ලබන්නේ සීල ශික්ෂාව පිළිබඳවයි. එය දෙයාකාර ය. එනම්, විරමනය හෙවත් නොකළ යුත්ත නොකිරීම හා සමාදානය හෙවත් කළ යුත්ත කිරීම යනුවෙනි. එම සීල ශික්ෂාවට සම්මා වාචා, සම්මා කම්මන්ත හා සම්මා ආජීව යන අංග තුන ඇතුළත් ය. සම්මා වාචා යනු යහපත් වචන කතා කිරීමයි. එය සතරාකාර ය.

1. බොරු කීමෙන් වැළකීම
2. කේළාම් කීමෙන් වැළකීම
3. පරුෂ වචන කථා කිරීමෙන් වැළකීම
4. හිස් වචන කීමෙන් වැළකීම

ඉහත දක්වන ලද්දේ වචනයෙන් සිදු වන අකුසල්වලින් වැළකීම ය. බොරුවෙන් අනුන් රැවටීම නොකළ යුත්තයි. කළ යුත්ත නම් සත්‍යය කතා කිරීමයි. කේළාම් කීම නම් නොකළ යුත්තයි. ඉන් වැළකී සමගිය, සමාදානය, ඇති කරන වචන කථා කිරීම කළ යුත්තයි. අන්‍යයන්ගේ සිත් පීඩාවට පත් කරන නොසරුප් වදන් කීම නොකළ යුත්තයි. එය බැහැර කොට ප්‍රියශීලී වචන කථා කිරීම කළ යුත්තයි. නිසරු නිෂ්ඵල වචන කතා කිරීම නොකළ යුත්තයි. ඵලදායී වූ යහපත් වචන කතාකිරීම කළ යුත්තයි.

මෙසේ වැරැදි අනර්ථවත් වචන භාවිතයෙන් වැළකී, නිවැරැදි ව, අර්ථවත් වචන භාවිත කරන තැනැත්තා සිය ජීවිතයේ දී සැමගේ විශ්වාසය හා ගෞරවය දිනා ගන්නෙක් වෙයි.

සීල ශික්ෂාවෙහි ඇතුළත් දෙවැනි කරුණ සම්මා කම්මන්තයයි. එනම් යහපත් වූ ක්‍රියාවන්හි නිරත වීමයි. තව දුරටත් පැහැදිලි කරන්නේ නම් සම්මා කම්මන්තයෙන් අපේක්ෂා කෙරෙන්නේ කයෙන් සිදු වන අකුසල්වලින් ඉවත් ව කටයුතු කිරීම යි. සම්මා කම්මන්තයට අයත් අංග වන්නේ,

1. ප්‍රාණීන් මැරීමෙන් වැළකීම
2. සොරකම් කිරීමෙන් වැළකීම
3. කාමයෙහි වරදවා හැසිරීමෙන් වැළකීම

සත්ත්ව ඝාතනයෙන් හෙවත් ප්‍රාණීන් මැරීමෙන් වැළකීම දුරු කළ යුතු නිසයි, පන්සිල් අටසිල් ආදී සියලු ම ශික්ෂා පදවලට එය ඇතුළත් ව පවතින්නේ. සතුන් මැරීමෙන් වැළකීම පමණක් නොව සතුන්ට අභය දානය දීම, ඔවුන්ට හිංසා පීඩා නොකිරීම ආදිය ද පුරුදු පුහුණු කළ යුතු ය. සියලු ම ප්‍රාණීන්ට කරුණාව, මෛත්‍රිය දැක්විය යුතු ය. එවිට ඔබ සියලු ජීවීන්ගේ ආරක්ෂකයා ද මිත්‍රයා ද වනු ඇත.

අන් සතු නුදුන් දේ තමන් සතු කර ගැනීමෙන්, උදුරා ගැනීමෙන්, පැහැර ගැනීමෙන් හෙවත් හොරකමින් වැළකී අන් සතු සම්පත් තමාගේ මෙන් සලකා රැක ගැනීම යහපත් වූ පුරුද්දකි. පෞද්ගලික දේපළ මෙන් ම පොදු දේපළ ද සුරැකීමේ ඇති වැදගත්කම මෙයින් වඩාත් තහවුරු වේ. වැරැදි කාම සේවනයෙන් වැළකීම යහපත් සමාජයක් පවත්වා ගැනීමට උපකාරවත් වේ. ශිෂ්‍ය ජීවිතයේ දී කුමර කුමරි බඹසර රැකගෙන කටයුතු කරන්නට ද අප වග බලා ගත යුතු ය. එය අනාගත යහපතට ද හේතු වේ.

සීල ශික්ෂාවේ තෙවන අංගය සම්මා ආජීවයයි. එනම් යහපත් දිවි පැවැත්මයි. සම්මා ආජීව හා මිච්ඡා ආජීව යැයි ජීවන ක්‍රම දෙකකි. අධාර්මික වූත් අකුසල සහගත වූත් ජීවිකා වෘත්තියක නිරත වීම මිච්ඡා ආජීවයයි. මිච්ඡා ආජීවයෙන් බැහැර ව සම්මා ආජීවයෙන් ජීවත් විය යුතු ය.

ආර්ය අෂ්ටාංගික මාර්ගයෙහි එන මෙකී සීල ශික්ෂාවේ යෙදීමෙන් අපේ පෞද්ගලික ජීවිතය වඩාත් ඵලදායක කර ගත හැකි අතර, අපේ සමාජගත

ජීවිතය ද සාර්ථක වෙයි. තමා චරිතවත් ව සංවරශීලී පුද්ගලයකු ලෙස කටයුතු කරමින්, අනුන්ට හානියක් නොකොට, ඔවුන්ට ආදර්ශයක් වන පරිදි ක්‍රියා කිරීමට සිල්වත් තැනැත්තා සමත් වන්නේ ය. සම්මා ආජීවයෙන් යුතු ව ජීවත් වීමේ දී අනුගමනය කළ යුතු නිවැරැදි ජීවන ක්‍රම කිහිපයක් බුදු දහමෙන් පෙන්වා දී ඇත. ගොවිතැන් කිරීම, ගවයන් රැක බලා ගැනීම, රාජ්‍ය සේවය හා වෙළෙඳාම ඒ අතර වැදගත් වේ. මෙම රැකියාවන්හි නිවැරැදි ව දැහැමි ව යෙදීම බුදු දහම අවධාරණය කරයි. ගොවිතැන් කිරීමේ දී පරිසර හිතකාමී ව එම කටයුතු සිදු කළ යුතු ය. ගවයන් ඇති කිරීමේ දී සත්ත්ව කරුණාව පෙරටු කර ගත යුතු ය. රජයේ සේවය පොදු ජන සේවයක් ලෙස සාධාරණ ව ඉටු කළ යුතු ය. වෙළෙඳාමේ දී වංචනික ක්‍රියා බැහැර කොට, ලාභය ම අරමුණු නොකර ක්‍රියා කළ යුතු ය.

සිල්වත් ව කටයුතු කිරීමේ ආනිශංස පහක් ගැන දහමෙහි සඳහන් වේ.

1. මහත් වූ භෝග සම්පත් ලැබීම
2. කීර්තිය පැතිරීම
3. පිරිස් මැද නොබිය ව කටයුතු කිරීමට හැකිවීම
4. මරණයට බිය නොමැති වීම
5. මරණින් මතු සුගතියේ ඉපදීම

සීලය යනු කය වචන දෙකෙහි සංවර භාවයයි. එහි දී අදහස් කෙරෙනුයේ කයෙන් සිදු වන වැරැදි තුනෙන් වැළකීම හා වචනයෙන් සිදු වන වැරැදි හතරෙන් වැළකීම වේ.

## සාරාංශය

සම්මා වාචා, සම්මා කම්මන්ත හා සම්මා ආජීව යන අංග තුන ආර්ය අෂ්ටාංගික මාර්ගයේ සීල ශික්ෂාවට අයත් වේ.

1. කය හා වචනයේ සංවර බව සීලයයි.
2. විරමනය හා සමාදානය යනුවෙන් සීලයේ දෙපැත්තක් ඇත.
3. සීලයේ ආනිශංස පහක් දහමෙහි දක්වා තිබේ.

## ක්‍රියාකාරකම



1. ශීල ශික්ෂාවට අයත් මාර්ගාංග නම් කරන්න.
2. සම්මා වාචා පැහැදිලි කරන්න.
3. සම්මා කම්මන්ත විස්තර කරන්න.

## පැවරුම



සීල ශික්ෂාව පිළිබඳ ව ඊ සටහනකින් දක්වන සැලසුමක් සකස් කරන්න.

## පුහුණුවට



කායේන සංවරෝ සාධු
සාධු වාචාය සංවරෝ
මනසා සංවරෝ සාධු
සාධු සබ්බත්ථ සංවරෝ

කය සංවර කර ගැනීම මැනැවි. වචනය සංවර කර ගැනීම මැනැවි. මනස සංවර කර ගැනීම මැනැවි. තිදොර ම සංවර කර ගැනීම මැනැවි.

# 09 පන්සිල් රකිමු

01. පාණාතිපාතා වේරමණී සික්ඛාපදං සමාදියාමි

කිසි විට සතකු නොමරමි මම නොමරවමි
වෙන අය මරන විට අනුමත නොම කරමි
කඩු දුනු මුගුරු මගෙ දෑතින් බැහැරලමි
සතුනට දයාබර හිතවත් අයෙක් වෙමි



02. අදින්නාදානා වේරමණී සික්ඛාපදං සමාදියාමි

නුදුන් දෙයක් සොර සිතකින් නොගන්නෙමි
අනුන් ලවා සොරකම් නොකරවන්නෙමි
හොරෙන් ගැනුම අනුමත නොම කරන්නෙමි
ලැබෙන්නකින් සතුටු ව දිවි ගෙවන්නෙමි

03. කාමේසු මිච්ඡාචාරා වේරමණී සික්ඛාපදං සමාදියාමි

වයසට නොගැළපෙන කම් සැප දුරු කරමි
කුමරුට කුමරියට හිමි බඹසර වෙසෙමි
වරදට පොළඹවන අය ඇසුරට නොයමි
සැම විට චරිතයෙහි පිවිතුරු බව රකිමි

04. මුසාවාදා වේරමණී සික්ඛාපදං සමාදියාමි

බොරු බස් කියා කිසිවකු නොරවටන්නෙමි
කෙනෙකුන් ලවා බොරුවක් නොකියවන්නෙමි
බොරු බස් කීම අනුමත නොම කරන්නෙමි
සැබවක් වුව ද නිසි තැනක ම කියන්නෙමි

05. සුරාමේරය මජ්ජපමාදට්ඨානා වේරමණී සික්ඛාපදං සමාදියාමි

දුම්වැටි මත්වතුර මත්කුඩු නොබොන්නෙමි
අන් කිසිවකු හටත් ඒවා නොදෙන්නෙමි
බොන්නකු වෙතොත් අනුමත නොම කරන්නෙමි
අන් සැම ලෙසින් මත් මත පිටු දකින්නෙමි

**පව හැරදමා කුසලට සිත යොමන්නෙමි**
**හැකි හැම දෙනාමත් පාපෙන් වළක්වමි**
**පව අත හැරීමෙහි අනුසස් කියන්නෙමි**
**මෙලෙසින් සැබෑ පිරිසිදු සිල් රකින්නෙමි**

සිල්පද පහ ආරක්ෂා කළ යුතු අයුරු මෙම කවි පන්තියෙන් පැහැදිලි කොට ඇත. පන්සිල් සුරැකීමේ දී සෑම සිල්පදයක් ම අංශ තුනකින් ආරක්ෂා කළ යුතු ය. එබැවින් එම සීලය **ත්‍රිකෝටි පාරිශුද්ධි ශීලය** යනුවෙන් හැඳින්වේ. එම අංශ තුන නම්,

1. තමා වරදින් වැළකීම
2. අන් අය ලවා වැරැදි නොකරවීම
3. අන් අය කරන වැරැදි අනුමත නොකිරීම (වැරැදි කරන්නන් සඳහා අනුබල නොදීම) වශයෙනි.

ශීලය දෙයාකාර ය. ඉහත දක්වන ලද්දේ වැළකීම හෙවත් විරතියයි. එනම් නොකළ යුතු දේවල් ය. ශීලය සම්පූර්ණ වීමට කළ යුතු දේවල් ද බුදු දහම අපට පෙන්වා දෙයි. චාරිත්‍ර හෙවත් සමාදාන යනුවෙන් හැඳින්වෙන්නේ ඒවා ය. එනම්,

1. තමා යහපතෙහි යෙදීම
2. අන් අය ද යහපත් ක්‍රියාවන්ට යොමු කරවීම
3. අනුන් කරන යහපත් ක්‍රියා අගය කිරීම යනුවෙනි.

පළමු සිල් පදය ගත් විට තමා ප්‍රාණඝාතයෙන් වැළකීම ප්‍රමාණවත් නොවේ. අන් අය ලවා ද ප්‍රාණඝාතය සිදු නොකළ යුතු ය. ප්‍රාණඝාතයෙහි යෙදෙන්නන්ට අනුබල දීම හෝ එම ක්‍රියාව අනුමත කිරීම හෝ නොකළ යුතු ය. ප්‍රාණඝාතයෙන් වැළකීම මෙන් ම සියලු සත්ත්වයින්ට කරුණාවෙන් දයාවෙන් මෛත්‍රී සිතින් යුතු ව කටයුතු කිරීම, අන් අය ලවා ද එසේ කරවීම මෙන් ම සතුන්ගේ යහපත වෙනුවෙන් කරනු ලබන ක්‍රියා අගය කිරීම ද සිදු විය යුතු ය. දෙවන ශික්ෂා පදය සැලකූ විට තමා සොරකම් නොකිරීම, අන් අය ලවා නොකරවීම මෙන් ම අනුබල නොදීම ද කළ යුතු ය. එම ශික්ෂා පදයෙහි සමාදානය ලෙස අදහස් කරන්නේ අන් අයගේ දේපොළ ආරක්ෂා කිරීම, ඒ සඳහා අන් අය යොමු කරවීම ද, ආරක්ෂා කිරීමට අනුබල දීම ද වේ. ඒ අනුව සිල් පද පහ තුළ ම වැළකීමේ අංශයක් මෙන් ම හැසිරීමේ අංශයක් ද ඇත. පංචශීලය නිසි පරිදි ආරක්ෂා කිරීම යනු මෙම දෙඅංශයෙන් ම කටයුතු කිරීම බව අප තේරුම් ගත යුතු ය.

## සාරාංශය

වැරැදි නොකොට ඉන් වැළකීමෙන් පමණක් සිල්වතකු බවට පත් විය නොහැකි ය. ඒ නිසා සිල් සමාදන් වීමෙන් අනතුරුව පිළිපැදිය යුතු නිවැරැදි හැසිරීම් ද තිබේ.

පරපණ නැසීම, සොරකම් කිරීම, වැරැදි කම්සුව සෙවීම, බොරු බස් කීම, මත් ද්‍රව්‍ය භාවිත කිරීම වැරැද්දක් මෙන් ම අන්‍යයන් ලවා කරවීම ද වැරැද්දක් වේ. එපමණක් නොව එම වැරැදි ක්‍රියා අනුමත කිරීම හා ඒ සඳහා අනුබල දීම ද වැරැද්දකි.

තමා විසින් ම වැරැදි කිරීමත්, අන්‍යයන් මගින් කරවීමත්, අන්‍යයන් විසින් කරන වැරැදි අනුමත කිරීම හා ඒවාට අනුබල දීමත් යන කරුණුවලින් වැළකී කටයුතු කිරීම ත්‍රිකෝටි පාරිශුද්ධි ශීලය ලෙස හැඳින්වේ.

## ක්‍රියාකාරකම

1. පංචශීලයට අයත් ශික්ෂා පද ලියා ඒවායේ සරල අදහස ලියන්න.
2. ත්‍රිකෝටි පාරිශුද්ධි ශීලය යනු කුමක් ද?
3. විරමනය හා සමාදනය එක් සිල් පදයක් ඇසුරින් පැහැදිලි කරන්න.

## පැවරුම

ඔබ විසින් සිදු කරන ලද යහපත් ක්‍රියා ලැයිස්තු ගත කරන්න.

## පුහුණුවට

මෙහි දැක්වෙන කවි කටපාඩම් කර තාලයට ගායනා කරන්න.

# 10 මවු පිය ගුණ වරුණ

වැල්ලේ පිපෙන බිම්මල වාසනාවන්
ගොල්ලේ පිපෙන පන්මල වාසනාවන්
දෙපෝදට පුන්සඳ වාසනාවන්
ජාතිත් අපේ මවුපියො වාසනාවන්

වැල්ල ගොරෝසු ය. රළු ය. තෙතමනය නොරඳයි. එබඳු වැල්ලේ ද බිම්මල් පිපේ. ඒවාට වැලි බිම්මල් යයි කියනු ලැබේ. පන්ගස් හැදෙන්නේ ගොල්ලේ ය. එනම් සමූහ වශයෙනි. එබඳු පන් ගොල්ලක පිපෙන මල වාසනාවේ ලකුණක් වැනි ය. දෙපෝද යනු පුන් පෝයද ය. එදට පුන්සඳ පායයි. එයින් ද සිරියාව වැඩි වී වාසනාව උදා වේ. එලෙසින් ම උපනුපන් ජාති ආදරය ද ආරක්ෂාව ද පෝෂණය ද අප වෙත ලබා දුන් මවුපියන් නැවත නැවතත් සසර දී ලැබෙන්නේ නම් එය වාසනාවකි.

අපට අපේ අම්මා තාත්තා තරම් වටිනා වස්තුවක් ලොව නැති බව මෙයින් කියැවේ. දුකේදීත් සැපේදීත් අප අත නොහැර අප සමග ම සිටිමින් අපට පිහිට වන, අප රැක ගන්නා ඉටු දෙවිවරුන් වන්නේ අපේ අම්මා තාත්තා ය. ළමා වුවත්, තරුණ වුවත්, වැඩිහිටි වුවත් අපේ අම්මාට හා තාත්තාට අප කුඩා දරුවන් ය. මෙම දහම පරිසර තත්ත්වයන් ඔස්සේ ද අපට ප්‍රකට කෙරේ.

ලොව එළිය කරන්නේ සූර්යයා ය. එපමණක් නොව ලෝකයේ ජීව ගුණය පවත්වා ගැනීමට උපකාරී වන්නේ ද සූර්යයා ය. සූර්යයා නැති කල ලෝකයක් නොපවත්නේ ය. හිරු පායන්නේ පෙරදිග හෙවත් නැගෙනහිර දිශාවෙනි. අප ලොවට ජනිත වූයේ මවුපියන් නිසා ය. ඔවුන් අපේ ලොවේ හිරු ය. අපගේ ජීවගුණය රැක දෙන්නට ඔවුහු දිවිහිමියෙන් ම ක්‍රියා කරති. එසේ වූ ලොවක දෙමවුපියන් හා දරුවන් අතර පැවතිය යුතු අසහාය බැඳීම අප හොඳින් තේරුම් ගත යුතු ය.

මෙම බැඳීම තේරුම් ගැනීම සඳහා අපට උපකාර වන වටිනා බුද්ධ දේශනාවක් සූත්‍ර පිටකයේ දැක්වේ. ඒ සිගාලක සූත්‍රය හෙවත් සිගාලෝවාද සූත්‍රයයි. එය සිගාල ගෘහපති පුත්‍රයාට දේශනා කරන ලද්දකි. දරුවන් වන අප, අපගේ දෙමවුපියන්ට කෙසේ සත්කාර සම්මාන කළ යුතු ද යන්න සිගාලෝවාද සූත්‍ර දේශනාවේ ඇතුළත් කරුණුවලින් අවබෝධ කර ගත හැකි ය.

මෙහි දී බුදුරජාණන් වහන්සේ සිගාල අමතා පරිසරයේ ඇති දිශා හය, එකිනෙකට බැඳී සිටින සමාජ කණ්ඩායම් හයක් ලෙස පැහැදිලි කර දුන් සේක.

බුදු දහමෙහි දෙමාපියන් හඳුන්වා දීමේ දී ඔවුන්ට මහා බ්‍රහ්මයාගේ තත්ත්වය පිරිනමා ඇත්තේ ය. මෙත්තා, කරුණා, මුදිතා, උපෙක්ඛා යන සිව් බඹ විහරණයන්ගෙන් සම්පූර්ණ වන්නේ දෙමාපියන් ය. දෙමවුපියෝ මෛත්‍රී සහගත ව දරුවන් රකිති; දරුවන්ගේ යහපත උදෙසා ම ක්‍රියා කරති; දරුවන්ගේ දුක සැප දෙකේ දී අත නොහැර සිටිති. මෙත්තා හෙවත් මෛත්‍රිය යනු මිතුරු සිත ය. එනම් තමන්ටත් අනුන්ටත් වෛර නොකිරීමයි. කරුණාව යනු අනුන්ගේ දුක ගැන කම්පා වීම ය. ඒ දෙස දයාවෙන් බැලීම ය. දුකට පිහිට වීම ය. මුදිතා යනු අනුන්ගේ සැපත, ජයග්‍රහණය දැක ඊර්ෂ්‍යා නොකිරීම ය; සතුටු වීම ය. උපේක්ෂා යනු මැදහත්කම ය; මැදහත් ව සිතා මැදහත් ව ක්‍රියා කිරීම ය. මෙකී ගුණ ධර්මයෝ දරුවන් පිළිබඳ ව මවුපියන් වෙත ද දක්නට ලැබෙත්.

දරුවාගේ දියුණුව ම වෙනුවෙන් වෙහෙසෙන ආදරණීය දෙමාපියන්ට දරුවන් විසින් ගෞරව දැක්විය යුතු ය; ඔවුන්ගේ කාර්යයන්හි දී සහාය විය යුතු ය; ආදරය කළ යුතු ය; මෛත්‍රී සහගත ව රැක ගත යුතු ය; වැඳුම් පිදුම් කළ යුතු ය. කොතෙක් උපකාර කළ ද දෙමවුපියන්ගෙන් සිදු වන සේවය වෙනුවෙන් දරුවන්ට ණය ගෙවා අවසන් කළ නොහැකි ය.

මගෙ අම්මා මට හිත කැමතියි
මගෙ අම්මා මට සැප කැමතියි
ඈ මගෙ වැඩි දියුණුව ම පතයි
සිහිනෙන් වත් අවැඩක් නො සිතයි

(භක්ති ගීත, පූජ්‍ය යක්කඩුවේ ප්‍රඥාරාම නාහිමි)



ඉහත දැක්වූ කවියෙන් මව ගැන කියවුණත් පිය සෙනෙහස ද එයට දෙවැනි නොවේ. ඒ නිසා ම අපි දෙමාපියන්ට ඉහත කී පරිදි සැලකිලි කළ යුතු වෙමු. එය මවුපිය උපස්ථානය නම් වේ.

සෑම මනුෂ්‍යයෙකුට ම දෙමවුපියන්ගෙන් ආදරය මෙන් ම ආරක්ෂාව ද පෝෂණය ද ලැබෙයි. දෙමවුපියන්ගෙන් ලැබෙන ආදරය හා සමාන ආදරයක් වෙනත් අයගෙන් ලැබෙන්නේ නැත. දරුවකුට දෙමවුපියන්ගෙන් ලැබෙන ආරක්ෂාව තරම් ආරක්ෂාවක් ද වෙනත් කෙනෙකුගෙන් අපේක්ෂා කළ නොහැකි ය. දරුවන්ගේ කුසගින්න දෙමවුපියන්ටත් දැනේ. තමන් බඩගින්නේ සිටිමින් දරුවන් පෝෂණය කරන දෙමාපියන් දරුවන්ට ආශීර්වාදයකි.

මවුපියන්ට සැලකීම බුදුරජාණන් වහන්සේ විසින් ද කරන ලද්දකි. සිගාලෝවාද සූත්‍රයට අනුව පහත සඳහන් අයුරින් අපට මවුපිය උපස්ථානය සිදු කළ හැකි ය.

1. ආහාර පාන සපයා දීම
2. අවශ්‍යතා ඉටු කර දීම
3. පරම්පරාව රැක ගැනීම
4. පරපුරෙන් පැවරී ඇති දේපළ ආරක්ෂා කිරීම
5. දෙමාපියන් මිය ගිය පසු පිංකම් කොට පිං අනුමෝදන් කිරීම

මෙසේ උපහාර ලබන්නේ දරුවන්ට කරුණු පහකින් සංග්‍රහ කරන දෙමාපියන් බව අප සිහි තබා ගත යුතු ය. එම කරුණු මෙසේ ය;

1. දරුවන් පවින් වැළැක්වීම
2. යහපතෙහි යෙදවීම
3. ශිල්ප ඉගැන්වීම
4. සුදුසු වයසේ දී ආවාහ විවාහ කර දීම
5. සුදුසු කල දායාද පවරා දීම

මෙසේ සංග්‍රහ ලැබීම නිසා දරුවෝ මැනැවින් යුතුකම් ඉටු කරන්නට නිතැතින් ම පෙළඹෙති. දෙමාපිය දූදරු සම්බන්ධතාව මැනැවින් සුරැකේ. මවුපියන් දරුවන්ට ආදරයෙන් සලකන්නා සේ ම දරුවන් ද දෙමාපියන්ට ආදරයෙන්, ගෞරවයෙන් සැලකිය යුතු ය.

## සාරාංශය



දෙමාපියන් දරුවන්ගේ වටිනා ම වස්තුවයි. ඔවුන් බ්‍රහ්ම නාමයෙන් හැඳින්වෙන්නේ ද එම ශ්‍රේෂ්ඨත්වය නිසා ය. දෙමාපියෝ සතර බඹ විහරණවලින් යුක්ත වන නිසා බ්‍රහ්ම නාමයට ඔවුහු සුදුස්සෝ වෙති.

දෙමාපියන්ට දරුවන් උපස්ථාන කළ යුත්තේ කෙසේ දූයි සිගාලෝවාද සූත්‍රයේ සඳහන් වේ. එසේ ම දෙමාපියන් දරුවන් කෙරෙහි අනුකම්පාවෙන් ඉටු කළ යුතු කරුණු ද එහි දක්වේ. දරුවන් දෙමාපියන්ට කරුණු පහකින් සැලකුම් කළ යුතු ය. දෙමාපියන් ද දරුවන්ට කරුණු පහකින් උපකාර කළ යුතු ය.

බුදුරජාණන් වහන්සේ ද මවුපියන් වෙනුවෙන් යුතුකම් ඉටු කළ සේක.

## ක්‍රියාකාරකම



1. දරුවන් විසින් දෙමවුපියන්ට ඉටු කළ යුතු යුතුකම් මොනවා ද?
2. දෙමවුපියන්ගෙන් දරුවන්ට සැලසෙන යහපත ලියන්න.

## පැවරුම



1. දෙමාපිය ගුණ සඳහන් වන කවි දෙකක් නිර්මාණය කරන්න.

2. දෙමවුපියන් සතුටින් තැබීම සඳහා ඔබට කළ හැකි දේවල් ලැයිස්තුගත කරන්න.

## පුහුණුවට

1. ඔබ දන්නා දෙමාපිය වන්දනා ගාථා දෙකට අමතර ව පහත සඳහන් ගාථා දෙක ද පාඩම් කර ගන්න.

(i) දසමාසමුදරේ කත්වා
පෝසේසි කරුණාය මං
මාතරං තං අහං වන්දේ
පුඤ්ඤං දත්වාන සාදරං

දස මස කුස දරා
කරුණා සිතින් මා හැදූ
මගේ මෑණියන්හට
වදිම් අදරැති සිතින් පින් දී

(ii) පාපා මං නිවාරෙත්වා
කල්‍යාණේ මං නිවේසයී
පිතරං තං අහං වන්දේ
පුඤ්ඤං දත්වාන සාදරං

පාපයෙන් වළකා
යහපතෙහි මා යෙද වූ
මගේ පියාණන්හට
වදිම් අදරැති සිතින් පින් දී

(මිය ගිය දෙමාපියන්ට ද මෙම ගාථාවලින් වන්දනා කළ හැකි ය. පින් අනුමෝදන් කළ හැකි ය.)

# 11 අභියෝග ජයගත් තරුණයෝ

පෙර දවසක මගධ රට රජගහ නුවර මගධ නමින් රජ කෙනෙක් විය. මෙම රජතුමාගේ පාලන කාලයේ බෝසතාණන් වහන්සේ එරට මචල ගමේ ඉතා ම කුලවත්, ධනවත් පවුලක කුමාරයෙක් ව උපන්හ. මේ පින්වත් කුමාරයාට මඝ යන නාමය තබන ලදි. කුමාරයා තරුණ වයසට එළඹෙත් ම මඝ මානවක යයි ප්‍රසිද්ධ විය.

උගත මනා ශිල්ප මැනැවින් උගත් මඝ දෙමාපියන්ගේ ආශීර්වාද මත විවාහ දිවියට ඇතුළත් විය. හෙතෙම දැහැමි දිවි පෙවෙතක් ගත කළේ ය. නිරන්තරයෙන් පන්සිල් රැක්මෙහි නිරත විය. මඝ වාසය කළ නුවර පවුල් තිහක් පමණ වාසය කළෝ ය. දනපතියෙකු වූ මඝ තරුණයා විසින් එක් දවසක ගම මැද එක්තරා ස්ථානයක් පිරිසිදු කොට නවීකරණය කරන ලදි. එහෙත් වෙනත් අයෙක් එම ස්ථානය අත්පත් කර ගත්තේ ය. කිසි ම කලබලයක් නොකළ මඝ මානවක එම ස්ථානය ඔහුට ම පවරා වෙනත් තැනක් පෙර පරිදි ම සකස් කළේ ය. එහෙත් තවත් අයෙක් එම ස්ථානය පැහැර ගත්තේ ය. එම ස්ථානය ද හැර දමා තවත් තැනක් සකස් කරන්නට



මඝ මානවක කටයුතු කළේ ය. එය ද තවකෙක් උදුරා ගත්තේ ය.

මේ අයුරින් කීප වතාවක් ම තමා සකස් කළ ස්ථාන අනුන්ට හිමි කළ හෙතෙම සිය උත්සාහය අත් නොහැරියේ ය. ඔවුන් සමග කලහයට නොගියේ ය. ඔවුන්ට මෛත්‍රිය ම වැඩී ය. ගම මැද මණ්ඩපයක් ඉදි කළ මඝ එහි සැප පහසු අයුරින් ආසන සකස් කොට පැන් පහසුව ද ඇති කළේ ය. මේ නිර්මාණයත් සමග ම මෙම ගම් වැසි තිස් දෙනෙකුගෙන් යුතු පිරිසක් මඝ සමග එක් ව කටයුතු කරන්නට විය.

මඝ මානවක මෙම පිරිස පන්සිල්හි පිහිටුවා ඔවුන් සමග සමාජ සේවා පුළුල් ව සිදු කළේ ය. මහා මාර්ග ප්‍රතිසංස්කරණය, වැව් පොකුණු ඉදි කිරීම, අම්බලම් ඉදි කිරීම ආදී සේවාවන්හි ඔවුහු නියැලුණෝ ය; සැම විට ම ධාර්මික ව කටයුතු කළෝ ය. එසේ ඔවුන් ධාර්මික ව කටයුතු කරන විට එම ගමේ ජනතාව ද ධාර්මික ව කටයුතු කිරීමට පටන් ගත්හ. මචල ග්‍රාමය සැමට ම ආදර්ශවත් ගමක් විය.

ගම සදාචාර සම්පන්න වීම එහි පාලකයා නුරුස්සන කරුණක් විය. වැරැදිකරුවන් නොවීමත්, දඩ මුදල් අය කර ගැනීමට නොහැකි වීමත් මේ නුරුස්සන බවට හේතුව විය. හෙතෙම රජු හමු වී, ගමේ මං පහරන්නන් පිරිසක් ඇති බවත්, ඔවුන්ගෙන් ජනතාවට කරදර සිදු වන බවත් පැමිණිලි කර සිටියේ ය.  රජතුමා ද කිසි ම වග විභාගයක් නොමැති ව මඝ ඇතුළු පිරිස අත් අඩංගුවට ගෙන ඇතුන් ලවා පාගවා මරා දමන්නට අණ කළේ ය.

එම අවස්ථාවේ දී බියට පත් පිරිස කලබල වනු දුටු මඝ ඔවුන්ට මෙසේ අවවාද කළේ ය. **ඔබ සියලු දෙනා ම තමන් ආරක්ෂා කරන සීලය සිහි කරන්න. කේළාම් කී අය කෙරෙහිත්, නිවැරැද්දේ දඬුවම් නියම කළ රජු කෙරෙහිත්, අප වෙත එන ඇතු කෙරෙහිත්, තම තමන්ගේ ශරීරය කෙරෙහිත් එක ම අයුරින් මෛත්‍රී කරන්න. එවිට අපට අනතුරක් නොවනු ඇත.** සැබෑ නායකයකු වශයෙන් මඝ තමාගේ පිරිස වෙනුවෙන් වගවීම මෙම ප්‍රකාශයෙන් පැහැදිලි වේ. පිරිස ද සිය නායකයාගේ අවවාද පිළිගනිමින්, යහපත් අනුගාමික පිරිසක් ලෙසින් මෛත්‍රී කළහ.

වධකයෝ ද මේ තිස් දෙනා වධක භූමියට ගෙන ගොස් බැඳ දමා ඇතුන් කෝප කරවා පාගවන්නට තැත් කළහ. එහෙත් පළමු ඇතා මේ පිරිස දකිත් ම

ආපසු හැරී දිව යන්නට  පටන් ගත්තේ ය. දෙවනු ව තව ඇතෙකු ගෙන එන ලදි. එම ඇතු ද පිරිස දුටු පමණින් ආපසු හැරී දිව යන්නට විය. මෙය රාජ පුරුෂයන්ට මහත් ගැටලුවක් විය. මෙම පිරිස අත බලවත් වූ ඖෂධයක් ඇතැයි රජුට සැකයක් උපන්නේ ය. එබැවින් ඒ ගැන පරීක්ෂා කරන්නට රාජ පුරුෂයන්ට පවරන ලදි. පිරිස පරීක්ෂා කළ රාජපුරුෂයෝ මොවුන් අත කිසිවක් නොමැති බව රජුට දන්වූහ. එවර රජුගේ අදහස වූයේ මොවුන් අත බලගතු මන්ත්‍රයක් තිබිය යුතු බවයි. එහි දී මඝ මානවක ප්‍රකාශ කළේ එවැනි බලගතු මහා මන්ත්‍රයක් තමන් හා අන් අය සතු ව පවතින බවයි. රාජපුරුෂයන් වෙතින් එය දැන ගත් රජතුමා එතැනට ගොස් එම මන්ත්‍රය ගැන විමසී ය.

එයට පිළිතුරු දෙන මඝ මානවක ප්‍රකාශ කළේ "**රජතුමනි, අපි සතුන් නොමරම්හ. සොරකම් නොකරම්හ. කාමමිත්‍යාචාරයෙහි නොයෙදෙම්හ. බොරු නොකියම්හ. රා නොබොම්හ. මෛත්‍රී භාවනාව වඩම්හ. දන් දෙම්හ. මං මාවත් සදම්හ. පැන් පොකුණු තනම්හ. අම්බලම් ශාලා ආදිය කරම්හ. මේ යහපත් ක්‍රියා අප සතු බලවත් මන්ත්‍රය වන්නේ ය.**" මේ ඇසූ රජතුමා බලවත් සතුටට පත් ව කේළාම් කියූ තැනැත්තාට පරිභව කොට ඔහු සතු ධනය ද, ඔහු ද මෙම පිරිසට පවරා දුන්නේ ය. එතැන් පටන් ඔවුහු වඩවඩාත් කැපවීමෙන් කුසල ධර්මයන්හි යෙදුණෝ ය.



මඝ මානවකගේ නිවසෙහි සුධර්මා, චිත්‍රා, නන්දා, සුජාතා නමින් කාන්තාවෝ සතර දෙනෙක් වූහ. මෙකල මඝ ඇතුළු පිරිස නගර මධ්‍යයේ විශාල ශාලාවක් ඉදි කළහ. සුධර්මා විසින් එහි කැණිමඬල තනවා දෙන ලදි. එපමණක් නොව මණ්ඩපය සමීපයේ පැන් හල් පිහිටුවා, එය වට කොට පවුරක් ද බඳවන ලදි. පවුර සමීපයේ තල් පැළ සිටුවා අලංකාර කරන ලදි. චිත්‍රාවෝ මණ්ඩපය සමීපයේ සිත්කලු උද්‍යානයක් ඉදි කළහ. නන්දා විසින් මනරම් පොකුණක් සාදවන ලදි. එහෙත් සුජාතාවගෙන් කිසිදු දායකත්වයක් නොලැබිණ. මඝ මානවක ද පහත සඳහන් උතුම්වත් සතක් ආරක්ෂා කරමින් කටයුතු කළේ ය.

**මවුපියන් පෝෂණය කිරීම, කුල දෙටුවන් පිදීම, ඇත්ත කථා කිරීම, මෘදු මොළොක් වචන කථා කිරීම , කේළාම් නොකීම, මසුරු නොවීම, ක්‍රෝධ නොකිරීම හෙවත් මෛත්‍රී කිරීම** එම වත් සත ය. මේවා ආරක්ෂා කරමින් මඝ ඇතුළු පිරිස ධාර්මික ව ජීවිත ගත කොට මරණින් පසු දෙව්ලොව උපත ලැබූහ. කිසිදු පොදු වැඩකට සහභාගි නොවූ සුජාතා ඒ අතර නොවූවා ය.

අභියෝගයන්ට මුහුණ දෙමින්, කණ්ඩායම් හැඟීමෙන් යුතු ව කටයුතු කිරීමෙන් හා සිය වගකීම් ඉටු කිරීමෙන් මඝ ඇතුළු පිරිස මෙලොව වශයෙන් ලත් ජයග්‍රහණ අප කාහටත් පූර්වාදර්ශයක් වන්නේ ය.

## සාරාංශය



මඝ මානවක නිවැරැදි ක්‍රියා කළ ප්‍රිය මනාප සමාජශීලී තරුණයෙක් විය. නායකත්ව ලක්ෂණ ඔහු වෙතින් විශේෂයෙන් ම ප්‍රදර්ශනය වූයේ ය. වගකීම හා වගවීම මඝ මානවකගේ චරිතයෙන් මැනැවින් ප්‍රකට වේ. ඔහු මෙන් ම සෙසු තරුණයෝ ද පන්සිල් රැක්කෝ ය. මෙත් වැඩුවෝ ය. අභියෝග ජයගත්තෝ ය. තමන්ට මෙන් ම අනුන්ට ද මහත් මෙහෙවරක් ඉටු කළ ආදර්ශවත් තරුණයෝ වූහ.

## ක්‍රියාකාරකම



1. මඝ මානවක ඇතුළු පිරිස ආරක්ෂා කළ ප්‍රතිපත්ති නම් කරන්න.
2. එකමුතු ව වැඩ කිරීමේ අගය පෙන්වා දෙන වාක්‍ය පහක් ලියන්න.



## පැවරුම

ඔබේ මිතුරන් හා එක් ව ශ්‍රමදානයක් සංවිධානය කරන්න.



## පුහුණුවට

මාතාපෙත්ති හරං ජන්තුං - කුලේ ජෙට්ඨාපචායිනං
සණ්හං සබිල සම්භාසං - පේසුණෙය්‍යප්පහායිනං
මච්ඡේර විනයේ යුත්තං - සච්චං කෝධාභිභුං නරං
තං වේ දේවා තාවතිංසා - ආහු සප්පුරිසෝ ඉති

මවුපියන් පෝෂණය කරන, කුල දෙටුවන් පුදන, ඇත්ත කතා කරන, මුදු මොළොක් වචන භාවිත කරන, කේලාම් නොකියන, මසුරු නොවන, ක්‍රෝධ නොකරන තැනැත්තා, තව්තිසාවෙහි දෙවියන් විසින් සත්පුරුෂයකු ලෙස හඳුන්වනු ලැබේ.

# 12 අපේකම සුරකිමු

අප ඉගෙනුම ලබන පාසල අනෙකුත් පාසල්වලට වඩා අපට වැදගත් වන්නේ එය අපේ පාසල යැයි අප සිතන නිසා ය. අපේ පාසල අනෙකුත් පාසල්වලින් වෙන් කොට හැඳින ගත හැකි අනන්‍යතා ලක්ෂණ කිහිපයක් ඇත. පාසල් කොඩිය, පාසල් ගීතය ඒ අතර වඩා වැදගත් වේ. සිසුන් වශයෙන් අපි ඒවාට ගරු කරමු. රටක් පිළිබඳ අවධානය යොමු කළ විට ද ඕනෑ ම රටක් සතු ව, එම රට තවත් රටකින් වෙන් කොට හැඳින ගත හැකි විශේෂ ලක්ෂණ රැසක් පවතී. සියලු රට වැසියෝ, එම ලක්ෂණ විදහා දක්වන සංකේතවලට ගරු කරති.

අපේ රට ශ්‍රී ලංකාවයි. මෙරට ජීවත් වන සැවොම ශ්‍රී ලාංකිකයෝ ලෙස සැලකෙති. අපි අපේ මාතෘ භූමිය වන්දනීය ලෙසත් පූජනීය ලෙසත් සලකමු. එම නිසා අප, රටට ආවේණික ජාතික සංකේත නිවැරැදි ව හඳුනා ගැනීම ඉතා වැදගත් වේ. ජාතික කොඩිය, ජාතික ගීය, ජාතික වෘක්ෂය, ජාතික පුෂ්පය අපේ රටේ ජාතික සංකේත අතර අතිශය වැදගත් ය. මෙම සංකේත ජාති ආගම් භේදයකින් තොර ව අප රටේ අනන්‍යතාව ලෝකයාට ම පෙන්නුම් කරයි.



# ජාතික කොඩිය

ජාතික කොඩිය යනු රටක අනන්‍යතාව ලොවට පෙන්වන ප්‍රධාන සංකේතයකි. ශ්‍රී ලාංකිකයින් වශයෙන් අපි ජාතික කොඩියට ගරු කළ යුතු හේතු සාධක රැසක් ඇත. අපගේ ජාතික කොඩිය සිංහල ජාතිය ද මෙරට ජීවත් වන අනෙකුත් සියලු ජාතීන් ද බුදු දහම මෙන් ම සියලු ආගම් ද පිළිබිඹු කරයි.

**ජාතික කොඩියෙහි අඩංගු සංකේත කිහිපයක අර්ථ**

- **කහ පාට සිංහයා** - සිංහල ජාතිය, සිංහල ජනතාවගේ විනයගරුක බව, නිර්භීතකම, අභිමානය, නායකත්වය හා සාධාරණත්වය විදහා දක්වයි.

- **අසිපත** - ධාර්මික ව නීත්‍යානුකූල ව යුක්තිගරුක ව රට පාලනය කරමින් මවුබිමේ ආරක්ෂාව උදෙසා නැඟී සිටීම පෙන්නුම් කරයි.

- **බෝපත් සතර** - බුදු දහමේ ඉතා වැදගත් ඉගැන්වීමක් වන මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා යන සතර බ්‍රහ්ම විහරණ මූර්තිමත් කරයි.

- **තද රතු පාට** - ශ්‍රී ලාංකික ජනතාවගේ ජීව රුධිරය පෙන්නුම් කරන අතර කොළ හා තැඹිලි පැහැ සිරස් පටි දෙකින් දෙමළ, මුස්ලිම්, බර්ගර්, මැලේ ඇතුළු අනෙකුත් ජාතීන් නියෝජනය කරයි.

- **කහ තීරුව** - සියලු ජාතීන් අතර එකමුතුව ද එකිනෙකා අතර අවබෝධය ද නිරූපණය වෙයි.

**ජාතික කොඩිය පරිහරණයේ දී අප සැලකිලිමත් විය යුතු කරුණු**

- ජාතික කොඩිය රැගෙන යාමේ දී එහි යෂ්ටිය ඍජු ව තබා ගැනීම
- ක්‍රීඩා උත්සවවල දී හෝ වෙනත් අවස්ථාවල දී හුදු විනෝදය උදෙසා ජාතික කොඩිය පරිහරණය නොකිරීම
- කිසිදු අවස්ථාවක එය බිම නොතැබීම
- ජාතික කොඩිය ඔසවන අවස්ථාවල දී සියලු දෙනා ම නැඟී සිට සීරුවෙන් සිටීම
- සිංහ රූපයේ පාද පහළට සිටින සේ කොඩිය එසවීම
- ජාතික කොඩිය එස වූ විගස ජාතික ගීය ගායනය කිරීම
- හානියට පත් වූ හෝ අවලක්ෂණ වූ කොඩි භාවිත නොකිරීම

## ජාතික ගීය

අප රටෙහි අනන්‍යතාව ලොව හමුවේ පෙන්නුම් කරන තවත් වටිනා සංකේතයක් ලෙස ජාතික ගීය සැලකිය හැකි ය. එය ආනන්ද සමරකෝන් මහතා විසින් රචනා කරන ලද්දකි. ඒ මඟින් ප්‍රධාන වශයෙන් අපේක්ෂා කෙරෙන්නේ තම රට පිළිබඳ අභිමානය ජනිත කරවීම ය. මාතෘ භූමියේ සෞන්දර්යය හා සෞභාග්‍යය ජාතික ගීයෙන් පැවසෙයි. එමෙන් ම ජයග්‍රහණය කරා යන ගමනේ දී බුදු දහමේ ද පෙන්වා දෙන,

- නැණවත් බව
- උත්සාහය
- එක ම මවකගේ දරු පිරිසක් මෙන් ක්‍රියා කිරීම

ආදී ගුණාංගවල වැදගත්කම එමඟින් අවධාරණය කෙරේ. ජාතික ගීය එක් ජනවර්ගයකට පමණක් විශේෂ වූවක් නොවේ. එය ගායනා කරනු ලබන විට සියලු දෙනා ම සීරුවෙන් නැඟී සිටිය යුතු අතර එහි අරුත සිහි ගන්වමින් අභිමාන පෙරදැරි ව ගායනා කළ යුතු ය. ඇසෙන සැණින් අනෙකුත් කටයුතු නවතා හිටිවන ම ඊට ගරු බුහුමන් දැක්විය යුතු ය. ගායනා කිරීමෙන් පසු ව හිස නමා ආචාර කළ යුතු ය.

## ජාතික වෘක්ෂය



ශ්‍රී ලංකාවේ ජාතික වෘක්ෂය නා ගස ය. එම වෘක්ෂය ජාතික මෙන් ම ආගමික වශයෙන් ද අපට වැදගත් වේ. මංගල, සුමන, රේවත, සෝභිත යන බුදුරජාණන් වහන්සේලා බුද්ධත්වයට පත් වූයේ නා ගස් සෙවණෙහි ය. මෛත්‍රී බුදුරදුන් බුදු බව ලැබීමට නියමිත බව පැවසෙන්නේ ද නා ගස් සෙවණක ය. එනිසා නා වෘක්ෂය බෝධීන් වහන්සේ නමක් ලෙස සැලකීමට හැකි වන අතර එය දෙවෙනි වන්නේ ඇසතු බෝධි වෘක්ෂයට පමණි. නාමල් පිදීම මහානිශංස ගෙන දෙන පිංකමක් ලෙස බෞද්ධයෝ පිළිගනිති. ඉතා ශක්තිමත්, දීර්ඝ කාලයක් පවත්නා වෘක්ෂයක් වන නා ගස ජාතියේ ශක්තිය හා චිර පැවැත්ම මූර්තිමත් කරයි.

නා මලින් ඉතා සෞම්‍ය, මිහිරි සුවඳක් වහනය වන අතර නා දලුවේ වර්ණය ඕනෑ ම අයෙකුගේ සිත් ඇද බැඳ ගන්නේ නිරායාසයෙනි. ජාතික මෙන් ම ආගමික වශයෙන් ද වැදගත් වන නා වෘක්ෂය ආරක්ෂා කිරීමට මෙන් ම ඊට ගරු කිරීමට ද අපි කුඩා කල සිට ම පුරුදු වෙමු.

## ජාතික පුෂ්පය



ශ්‍රී ලංකාවේ ජාතික පුෂ්පය නිල් මහනෙල් මල ය. එය නිවැරැදි ව හැඳින ගැනීම ඉතා වැදගත් ය. මහනෙල් මල බුදුරදුන්ගේ සිරි පතුලේ ඇතුළත් එකසිය අටක් වූ මංගල සංකේතවලින් එකකි. එය සුගන්ධවත් ය. පවිත්‍රත්වයෙන් යුක්ත ය. මෙම කරුණු නිසා මහනෙල් මල අතීතයේ සිට ම මංගල සංකේතයක් ලෙස බෞද්ධයන් විසින් සලකනු ලැබේ.

එය දිය මත්තෙහි පිහිටා ඇති ආකාරය දුටු විට බුදුරජාණන් වහන්සේගේ පද්මාකාර ජීවිතය සිහි ගැන්වෙන්නේ නිරායාසයෙනි. රාජකීය උත්සව සඳහා අනාදිමත් කාලයක සිට මෙම මල භාවිත කරනු ලැබ ඇත. බලවත් රෝග සමනය කිරීමට සමත් සිසිල් ගුණයක් සහිත ඖෂධීය පුෂ්පයක් ලෙස ද නිල් මහනෙල් මල සැලකේ.

අප රට තුළ විවිධ ජාතීහු මෙන් ම විවිධ ආගමිකයෝ ද වාසය කරති. අප සියලු දෙනාගේ ම රට ශ්‍රී ලංකාවයි. එනිසා මෙහි දක්වන ලද ජාතික සංකේතවලට සියලු දෙනා ම ගරු කළ යුතු ය. සියලු ජාතීන් අතර සමගිය හා සාමය වැඩි දියුණු කර ගැනීමට එය ප්‍රබල උපකාරයක් වෙයි.

## සාරාංශය



- ජාතික කොඩිය, ජාතික ගීය, ජාතික වෘක්ෂය, ජාතික පුෂ්පය අපේ රටේ ප්‍රධානතම ජාතික සංකේත ලෙස සැලකේ.
- ජාතික සංකේත රටක අනන්‍යතාව පිළිබිඹු කරයි.
- ජාතික සංකේතවලින් පැවසෙන අර්ථ නිවැරැදි ව වටහා ගැනීම වැදගත් ය.
- භේදයකින් තොර ව සංකේතවලට ගරු කිරීම අප සියලු දෙනාගේ ම වගකීමයි.

## ක්‍රියාකාරකම



1. ජාතික කොඩියෙහි ඇතුළත් සංකේත හතරක් නම් කරන්න.
2. එම සංකේතවලින් අදහස් කෙරෙන්නේ කුමක් දැයි පැහැදිලි කරන්න.
3. ජාතික කොඩියට ගරු කිරීමට ගත හැකි ක්‍රියාමාර්ග පහක් ලියන්න.

## පැවරුම



ඔබේ අභ්‍යාස පොතෙහි ජාතික කොඩිය අඳින්න.

# 13 හොඳ නරක හැඳින යහපතෙහි යෙදෙමු

අප මීට පෙර පාඩමක දී ඉතා කීකරු, විනීත රාහුල පුංචි හාමුදුරුවන් වහන්සේ ගැන ඉගෙන ගත්තා ඔබට මතක ඇති. රාහුල හාමුදුරුවන්ට **අම්බලට්ඨික රාහුලෝවාද** නම් සූත්‍රයේ දී බුදු හාමුදුරුවෝ පෙන්වා දුන්නා කිසි යම් ක්‍රියාවක් හොඳ ද නරක දැයි මැන බලන්නේ කොහොම ද කියල.

මැනීම කියන වචනය සහ එම ක්‍රියාව අපට හොඳින් හුරුපුරුදුයි. එදිනෙදා කටයුතුවල දී දිග පළල මැන බැලීමට අඩිකෝදුව, මීටරකෝදුව ආදී වශයෙන් පොදු මිනුම් දඬු අප භාවිතයට ගන්නවා. මෙම මිනුම් දඬු යොදා නොගතහොත් දිග පළල උස පිළිබඳ නිවැරැදි අදහසක් කියන්න අපහසුයි.

එහෙත් අප විසින් සිත, කය, වචනය කියන තිදොරින් කරනු ලබන ක්‍රියා හොඳ ද නරක ද යන්න මැන බැලීමට එවැනි මිනුම් දඬු භාවිතයට ගන්න බැහැ. යහපත් දරුවකු වී ජීවිතය සාර්ථක කර ගැනීමට නම් හොඳ නරක කියන්නේ කුමක් දැයි කුඩා කල සිට ම දැන සිටීම ඉතා වැදගත් වෙනවා. හොඳ නරක ක්‍රියා හඳුනා ගැනීමට යොදා ගත හැකි මිනුම් දඬු මොනවද කියලා අපි සොයා බලමු. බුදු හාමුදුරුවෝ රාහුල හාමුදුරුවන්ට දේශනා කළ විදියට,

01. කිසි යම් ක්‍රියාවක් තමන්ට අවැඩදායක වේ ද
02. අනුන්ට අවැඩදායක වේ ද
03. තමන්ට හා අනුන්ට අවැඩදායක වේ ද
    එය නරක ක්‍රියාවක්. අකුසල කර්මයක්.

හොඳ ක්‍රියාවක් කියන්නේ මොන වගේ ක්‍රියාවකට ද කියලත් මේ විදියට ම පැහැදිලි කර ගන්න පුළුවන්.

01. කිසි යම් ක්‍රියාවක් තමන්ට වැඩදායක වේ ද
02. අනුන්ට වැඩදායක වේ ද
03. තමන්ට හා අනුන්ට වැඩදායක වේ ද
    එවැනි ක්‍රියාව හොඳයි. එය කුසල කර්මයක්.

නරක ක්‍රියාව, අකුසලය හඳුනා ගැනීමට මේ නිදසුන ගැන හිතා බලන්න.

පියදාස ජීවත් වුණේ අප පාසල අසල නිවසක. ඔහු මද්‍යසාර භාවිත කරන්නට පුරුදු වී සිටියා. ඒ නරක ක්‍රියාව නිසා වැඩි කලක් නොගොස් පියදාස රෝගියෙක් වුණා. එසේ ම දිළිඳු වුණා. අඬදබරත් ඇති කර ගත්තා. එයින් දුකට පත් වුණා. ඒ වාගේ ම අසල් වැසියන්ටත් පියදාසගේ මේ නරක ක්‍රියාව නිසා බොහෝ කරදර සිදු වුණා. ඔවුන්ගේ නිදහස නැති වුණා. පියදාසගේ අඹුදරුවන්ටත් හිරිහැර වුණා. මේ හැටියට පියදාසටත් සිදු වුණේ අවැඩක්, නරකක්. අන් අයටත් සිදු වුණේ අවැඩක්, නරකක්. මෙහෙමයි නරක ක්‍රියාව අකුසලය මැන ගන්න පුළුවන්.

හොඳ ක්‍රියාව, කුසලය හඳුනා ගැනීමට මේ නිදසුන ගැන සිතා බලන්න.

පසුගිය සඳුදා උදෑසන පාසලට පැමිණෙමින් සිටි උපාලි මහමඟ තිබී හිමිකරුවකු නැති මුදල් පසුම්බියක් අහුලාගත්තා. අවංක අදහස් ඇති යහපත් දරුවකු වූ ඔහු පාසලට ගොස් විදුහල්පතිතුමාට එය භාර දුන්නා. එතුමා එහි තිබූ ලිපිනය බලා හිමිකරු පාසලට කැඳවා එම මුදල් පසුම්බිය ඔහුට භාර දුන්නා. බලන්න, මේ ක්‍රියාව දිහා. එයින් උපාලි සතුටු වුණා. ඔහුට ප්‍රශංසාවකුත් ලැබුණා. තමා අවංක බව ඔහු පෙන්නුම් කළා. ඒ වගේ ම පසුම්බිය හිමිකරුත් සතුටු වුණා. ඒ අනුව උපාලිත් පසුම්බිය හිමිකරුත් යන දෙදෙනාට ම සිදු වුණේ හොඳක්, යහපතක්. මේ විදියටයි හොඳ ක්‍රියාව, කුසලය මැන ගන්න පුළුවන්.

ඒ වගේ ම බුදු හාමුදුරුවෝ අම්බලට්ඨික රාහුලෝවාද සූත්‍රයේ දී පුංචි රාහුල හාමුදුරුවන්ට කැඩපතක් උදාහරණයට අරගෙන හොඳ නරක තව දුරටත් පැහැදිලි කරලා දීල තියෙනවා. අප කැඩපතක් පාවිච්චි කරන්නේ මුහුණේ අඩුපාඩු බලා ගන්න. කැඩපත ඉදිරියට ගිහිල්ල අප අපේ මුහුණේ අඩුපාඩු සකස් කර ගන්නවා. ඒ වගේ ම අප එදිනෙදා ජීවිතයේ කයින්, වචනයෙන්, සිතින් කරන ක්‍රියා හොඳ ද නරක ද කියලා විමසිලිමත් වෙන්න ඕන. එහෙම විමසිලිමත් වෙලා තමන්ටත් අනුන්ටත් අයහපතක් වන ක්‍රියාවලින් වළකින්න ඕන. යහපතක් වන ක්‍රියාවල නිරත වෙන්න ඕන.

එක දවසක් බුදුහාමුදුරුවො ආනන්ද හාමුදුරුවොත් එක්ක පිණ්ඩපාතේ වඩින වෙලාවේ ගොවියෙක් කුඹුරක් සීසාමින් හිටියා. කුඹුර දෙස බැලුව බුදු

හාමුදුරුවෝ, ‘ආනන්ද සර්පයා දුටුවා ද?’ කියලා ඇහුවා. පේන්න සර්පයෙක් හිටියෙ නැති වුණාට ආනන්ද හාමුදුරුවන්ට තේරුණා බුදු හාමුදුරුවෝ සර්පයා කියලා අදහස් කළේ කුමකට ද කියලා. කුඹුරක හොරු පිරිසකට මඟ හැරුණු මුදල් පසුම්බියක් ගැනයි බුදු හාමුදුරුවෝ මේ ප්‍රශ්නය ඇහුවේ. ආනන්ද හාමුදුරුවෝ බුද්ධිමත් විදියට මේ ප්‍රශ්නෙ තේරුම් අරගෙන ''සර්පයා දිටිමි ස්වාමීනි'' කියලා පිළිතුර දුන්නා. ටික වෙලාවකින් එතැනට පැමිණි රාජපුරුෂයෝ මේ අහිංසක ගොවියා ගැන සැක කරලා දඬුවම් දෙන්න අරන් ගියා. මරණ බියෙන් සිටි ගොවියා, ''ආනන්ද සර්පයා දුටුවා ද? ආනන්ද සර්පයා දුටුවා ද? '' යනුවෙන් කියවන්න ගත්තා. මේ ප්‍රකාශය අනුව තොරතුරු සොයා බලද්දී ඔහු නිවැරැදි පුද්ගලයකු බවට කවුරුත් තේරුම් ගත්තා. එයා දඬුවමින් නිදහස් වුණා. මෙම සිද්ධිය මුල් කරගෙන බුදු හාමුදුරුවන් පහත දැක්වෙන ගාථාව දේශනා කළා.



න තං කම්මං කතං සාධු - යං කත්වා අනුතප්පති
යස්ස අස්සුමුඛෝ රෝදං - විපාකං පටිසේවති

යම් ක්‍රියාවක් නිසා පසුතැවිල්ල ඇති වේ ද, කඳුළු පිරි දෑසින් යුතු ව අඬමින් විපාක විඳීමට සිදු වේ ද, එවැනි ක්‍රියා නොකිරීම හොඳයි. අමිහිරි, අසතුටුදායක, දුක්ඛදායක, ප්‍රතිඵල ලැබෙන ක්‍රියා නරක බවයි මෙම ගාථාවෙන් කියා දෙන්නේ.

බුදු හාමුදුරුවන්ගේ කාලේ සුමන නමින් මල්කරුවෙක් හිටියා. දවසක් එයා බිම්බිසාර රජ්ජුරුවන්ට මල් අරගෙන යන කොට භික්ෂූන් වහන්සේලා පිරිවරාගෙන සවණක් රැස් විහිදුවමින් ශාන්ත ගමනින් මහමග වඩින බුදුරජාණන් වහන්සේ දැක්කා. මේ සුන්දර දර්ශනය දැක්ක සුමන මාලාකාරයට පුදුම සතුටක් ඇති වුණා. ශ්‍රද්ධාවෙන් හිත පිරිල ගියා. එයා හිතුවා රජ්ජුරුවෝ මොන දඬුවම දුන්නත් තමන් අරගෙන යන මල් බුදු හාමුදුරුවන්ට පූජා කරනවා කියලා. සුමන ඉතා ම ශ්‍රද්ධාවෙන් බුදු හාමුදුරුවන්ට මල් පූජා කළා ම, ඒ මල් ටික උන්වහන්සේ වටේ මල් වියනක් සේ තැන්පත් වුණා. මේ අසිරිමත් සිදුවීම දැක්ක බොහෝ අය සාදුකාර දෙන්න ගත්ත. සුමන ජීවිතේ කවදාවත් එදා වගේ සතුටක් විඳල තිබුණෙ නෑ. රජ්ජුරුවෝ සුමන මල්කරුගේ උතුම් ක්‍රියාව පිළිබඳ පැහැදී, ඔහුට ප්‍රශංසා කර බොහෝ තෑගි බෝග දුන්නා. සුමන මල්කරුගෙ හොඳ ක්‍රියාව මුල් කරගෙන බුදු හාමුදුරුවො මේ ගාථාව දේශනා කොට වදාළා.

තංච කම්මං කතං සාධු - යං කත්වා නානුතප්පති
යස්ස පතීතො සුමනො - විපාකං පටිසේවති

යම් ක්‍රියාවක් නිසා පසුතැවිල්ල ඇති නොවේ ද එහි විපාකය සොම්නසින් විඳිය හැකි වේ ද, එවැනි ක්‍රියා කිරීම හොඳයි. මෙම ගාථාවෙන් කියැවෙන්නේ අමිහිරි නොවන, සතුට සොම්නස ලැබෙන හොඳ ප්‍රතිඵල ලැබෙන ක්‍රියා හොඳ බවයි.

මේ කථා දෙකෙන් අපට ඉගෙන ගන්න බොහෝ දේවල් තියෙනවා. පසුතැවෙන්න සිද්ධ වෙන කිසි ම කටයුත්තක් කරන්න හොඳ නෑ. පාඩම් නොකර කම්මැලිකමට නිකරුණේ කාලය ගෙවා දැම්මොත් හොඳට ඉගෙන ගන්න බැරි වෙනවා. ඉගෙන ගන්න බැරි වුණ කී දෙනෙක් අද ඒ ගැන හිතල

පසු තැවෙනව ද? වැරැදි වැඩ කළොත් පසු ව ඒ ගැන හිතල දුක් වෙන්න සිද්ධ වෙනවා. ඒක නිසා ආදරණීය දුවේ පුතේ, පසුතැවීමට හේතු වන ක්‍රියා නොකර සිටීමටත් සතුටු විය හැකි ක්‍රියා පමණක් සිදු කිරීමටත් අප හොඳින් හිතට ගන්න ඕන.

## සාරාංශය



- ★ තමාට හා අන් අයට අයහපතක් වන ක්‍රියා නරක ක්‍රියා වේ.
- ★ තමාට හා අන් අයට යහපතක් වන ක්‍රියා හොඳ ක්‍රියා වේ.
- ★ පසු ව පසුතැවීමට හේතු වන ක්‍රියා නොකළ යුතු ය.
- ★ පසු ව සතුටු විය හැකි ක්‍රියා කළ යුතු ය.

## ක්‍රියාකාරකම



1. ක්‍රියාවක හොඳ නරක තෝරා ගැනීමට යොදා ගත හැකි මිනුම් දඬු තුන ලියන්න.
2. මෙම මිනුම් දඬු අනුව ඔබට සිදු කළ හැකි යහපත් ක්‍රියා පහක් නම් කරන්න.
3. ඔබ සිදු කර ඇති යහපත් ක්‍රියා ලැයිස්තුවක් ලියන්න.

## පැවරුම



- මෙහි දැක්වෙන ධම්මපද ගාථා තාලයට සජ්ඣායනා කරන්න.
- සුමන මාලාකරුගේ කථා පුවත හා අසරණ ගොවියා පිළිබඳ කථා පුවත සද්ධර්ම රත්නාවලිය ඇසුරෙන් කියවන්න.

# 14 වෙනස් වීමට ඔරොත්තු දෙමු

එදින පුර පසළොස්වක පොහොය දිනයකි. මම උදෑසන ම පිබිදුණෙමි. හිමිදිරිය ඉතා ප්‍රබෝධවත් ය. කුරුල්ලන්ගේ කිචිබිචි නාදය දසත පැතිරේ. විවර කළ ජනෙල් පියන් අතුරින් ළා හිරු කිරණ මා නිදා සිටි කාමරයට ඇදී ආවේ ගතට මෙන් ම සිතට ද ප්‍රබෝධය වැඩි කරමිනි. මම ඇඳෙන් නැගිට මුව සේදීමට ගෙමිදුලට ගියෙමි. මා දුටුවේ සුන්දර දසුනකි. නිවස ඉදිරිපස ඇති වතුසුද්ද ගස මලින් පිරී තිබිණ. අලුයම ඇද හැළී තිබූ පොද වැස්සෙන් ගස්වැල් අමුතු ප්‍රබෝධයකින් පිරී ඇත. සිසිල් සුළඟ ද හමා එයි. පාසල් නිවාඩු දිනයක් වූ මෙදින පරිසරයේ මා දුටුවේ අපූරු සුන්දරත්වයකි. අම්මා සාදා දුන් තේ කෝප්පය රැගෙන මම සාලයට ගියෙමි. සීයා රූපවාහිනියේ විකාශනය වූ ධම්මචින්තා වැඩසටහනක් නරඹමින් සිටියේ ය.

එම දෙසුමෙහි පෙන්වා දුන්නේ වෙනස් වීමට මුහුණ දෙන්නේ කෙසේ ද යන්නයි. මම ද එම දේශනාවට ආශාවෙන් සවන් දුනිමි.

> "පින්වතුනි, බුදු දහමේ ඉතා ම වැදගත් ඉගැන්වීමක් තමයි අනිත්‍යතාව කියල කියන්නෙ. එහි තේරුම ලෝකයේ පණ ඇති සහ පණ නැති සියල්ල සෑම මොහොතක ම වෙනස් වෙනවා කියන එක. පරිසරය දිහා බැලුවම මේ කතාව හොඳින් තේරුම් ගන්න පුළුවන්. පිපුණු මල් පර වෙනවා. සුදු වලාකුළු තිබෙන අහස වහින්න ආසන්න වෙන කොට කළු වලාකුළුවලින් පිරිල යනවා. දහවල පායල තියෙන ඉර, අහසේ එක ම තැන තියෙන්නෙ නැතුව බැහැල යනවා. දැන් බලන්න ළදරුවා ටිකෙන් ටික ළමයෙක් වෙනවා, තරුණයෙක් වෙනවා, ඊළඟට වැඩිහිටියෙක් වෙලා අන්තිමට මහල්ලෙක් වෙනවා. ළදරුවාගේ සිට මහල්ලා දක්වා ඇති වෙන මෙම වෙනසට ලෝකෙ කවුරුවත් කැමැති නෑ. ඒ වුණාට වෙනස් වීමෙන් මිදෙන්න ලෝකෙ කිසි කෙනෙකුට හැකියාවක් නෑ. ඒක ස්වභාව ධර්මයක්."

මම එකවරම සීයාගේ මුහුණ දෙස බැලීමි. සීයාගේ මුහුණෙහි හිමිදිරියේ මා දුටු ප්‍රබෝධය දක්නට නොලැබුණි. සීයා ද වයසට ගොස් ඇත්තේ ළදරු, ළමා, තරුණ අවධි පසු කොට බව මට සිතුණි. මම දේශනයට දිගට ම සවන් දුනිමි.



"පින්වතුනි, සමහර දේවල් වෙනස් වෙනවට අප කැමැතියි. උදාහරණයක් විදියට ඔබ රෝගාතුර ව සිට සනීප වෙනව කියල හිතන්න. එවිට දැනෙන්නේ සතුටක්. හේතුව, ඒ වෙනස සිද්ධ වුණේ අපි බලාපොරොත්තු වුණ ආකාරයට නිසා. ඒත් ලෝකෙ ගොඩාක් දේවල් තියෙනවා වෙනස් වෙනවට අප අකැමැති. උදාහරණ විදියට හිතුවොත් අප නීරෝගී ව ඉඳල ලෙඩ වුණොත් දුක් වෙනවා. මොකද අප කවුරුවත් ලෙඩ දුක්වලට මුහුණ දෙන්න

අකැමැති නිසා. සමත් වේ යැයි බලාපොරොත්තු වන විභාගයක් අසමත් වුණා ම දුක් වෙන්නේ අසමත් වීම නමැති වෙනස දරා ගන්න බැරි නිසා."

ධර්ම දේශක ස්වාමීන් වහන්සේ එහෙම දේශනා කළා ම මට මතක් වුණේ පසුගිය වර්ෂයේ ශිෂ්‍යත්ව විභාගය සමත් වීමට ලකුණු කිහිපයක් අඩු වීම නිසා මං කොච්චර දුක් වුණා ද කියල. විභාගෙ ලකුණු අඩු වුණා කියල එදා දුක් වුණාට අද මට එහෙම දුකක් නෑ. ගිය අවුරුද්දෙ පහ ශ්‍රේණියෙ හිටියට මේ අවුරුද්ද වෙන කොට මං හය ශ්‍රේණියට සමත් වෙලා. පාවිච්චි කරපු ඇඳුම පැළඳුම, පොතපතේ ඉඳල බොහෝ දේවල් හය ශ්‍රේණිය වෙනකොට වෙනස් වෙලා කියල මට හිතුණෙ ඒ වෙලාවෙ.

ස්වාමීන් වහන්සේගේ දේශනයට මම දිගට ම සවන් දුනිමි.

> "ඔබේ ජීවිතය ගැන හිතල බලන්න. එක් එක් අවස්ථාවල දී විවිධ වෙනස්වීම්වලට මුහුණ දීමට සිදු වෙනවා. පුළුවන් හැම වෙලාවෙ ම වෙනස් වීම් අපේ යහපතට ගැළපෙන විදියට හරවා ගන්න කවුරුත් හිතට ගන්න ඕන. උදාහරණයක් විදියට කියනව නම් වයසට යන එක අපට නතර කරන්න බැරි වුණත්, ඒ වයස යැමත් සමඟ මහන්සි වෙලා ඉගෙන ගත්තොත් අපේ අනාගත ජීවිතය සාර්ථක කර ගන්න පුළුවන්. ලෙඩ වෙනවට අකැමැති නිසා නීරෝගී ව ඉන්න උත්සාහ කරන්න අපට පුළුවන්. මේ සියලු කරුණුවලින් අපට ඉගෙන ගන්න වටිනා පාඩමක් තියෙනවා. එය තමයි කුඩා කාලයේ ඉඳල ම වෙනස් වීමට ඔරොත්තු දීමේ හැකියාව ඇති කර ගන්න ඕන කියන එක."

ධම්මචින්තා වැඩසටහන නිමා විය. ක්‍රමයෙන් හිමිදිරිය දහවල බවට වෙනස් වී ගියේ ය. හිමිදිරි පරිසරයේ මා දුටු ප්‍රබෝධය දහවල එලෙසින් දක්නට නොතිබුණි. ඉඳ හිට කුරුලු හඬ ඇසුණ ද උදෑසන මෙන් එහි ගීතවත් බවක් නොදනුණි. මම මිදුලට පැමිණියෙමි. වතුසුද්ද ගසෙහි මල් කිසිවකු විසින් නෙළාගනු ලැබ තිබුණි. උදෑසන පිපී තිබුණු මල් කිහිපයක් මිලිනව ගස අවට බිම, වියළුණු කොළ අතරට එක් වී තිබිණි. උදෑසන ළහිරු කිරණින් ගතට දැනුණු සුවය දහවල වන විට ඒ අයුරින් විඳගත නොහැකි විය. මා සිත් ගත් පරිසරය දහවල වන විට වෙනස් වී ඇත. ඒ සමඟ ම වෙනස්වීම පිළිබඳ ස්වාමීන් වහන්සේ ලබා දුන් උපදේශය මසිතට නැගුණි.

වෙනස්වීම සොබාදහමක් බවත් එයින් අධික දුකට හෝ සතුටට හෝ පත්වීම අපගේ ම අයහපතට හේතු වන බවත් මම තේරුම් ගනිමි.

## සාරාංශය



- ★ ලොව පවතින පණ ඇති පණ නැති සෑම දෙයක් ම වෙනස් වීමට යටත් වේ.
- ★ මෙම වෙනස් වීම, අනිත්‍යතාව යනුවෙන් බුදුදහමේ හැඳින්වේ.
- ★ අප ප්‍රිය කරන දේවල් වෙනස් වන විට දුක ඇති වේ.
- ★ අප අකැමැති දේ වෙනස් වන විට සතුට ඇති වේ.
- ★ ශිෂ්‍ය අවධියේ සිට ම වෙනස්වීම සොබාදහමක් බව තේරුම් ගෙන එයට මැදිහත් ව මුහුණ දීමට අධිෂ්ඨානයක් ඇති කර ගත යුතු ය.

## ක්‍රියාකාරකම



01. අනිත්‍යතාව යනු කුමක් ද? ඔබේ වචනයෙන් පැහැදිලි කරන්න.

02. වෙනස්වීමට නොසැලී මුහුණ දීම සඳහා ඔබට කළ හැකි දේ ලියන්න.

## පැවරුම



- නිවාඩු දිනයක උද්‍යානය පරිසරය හොඳින් නිරීක්ෂණය කර ඔබට දක්නට ලැබෙන දේ සටහන් කර ගන්න.
- සවස් වන විට එම දේවල් වෙනස් වී ඇති ආකාරය හැඳින සටහන් කරන්න.
- ගුරුතුමා සමග ඒ පිළිබඳ ව සාකච්ඡා කරන්න.

## පුහුණුවට



පූජේමි බුද්ධං කුසුමේනනේන
පුඤ්ඤේන මේතේන ච හෝතු මොක්ඛං
පුප්ඵං මිලායාති යථා ඉදං මේ
කායෝ තථායාති විනාසභාවං

. . . . . . .

මේ මලින් බුදු සමිඳු පුදනෙමි
ඒ පිනෙන් මොක්සුව ලැබේවා
මෙමල මිලින ව යයි ද යම් සේ
මගේ සිරුරත් එලෙස වැනසේ

(පූජ්‍ය ගන්තුනේ අස්සජි නාහිමි)

# 15 වරදින් මිදෙමු

පාසල නිමා වී නිවසට පැමිණි මා ධම්ම පදය කියවීමට උනන්දු වූයේ, "සුමේධ, වෙසක් සතියේ එළිදැක්වීමට නියමිත **දහම් ලිපි සරණිය** සඟරාවට හොඳ ලිපියක් ලියන්න" යනුවෙන් අප විදුහලේ ධර්මාචාර්ය ස්වාමීන් වහන්සේ මා දැනුම්වත් කළ නිසා ය. කොතෙක් උත්සාහ කළ ද ඉදිරිපත් කරන ලිපියට සිත් ගන්නා මාතෘකාවක් සකස් කර ගැනීමට එක් වර ම මට නොහැකි වූයේ අසල නිවසේ ගුවන් විදුලි යන්ත්‍රයෙන් නිකුත් වූ කන් බිහිරි කරවන තරමේ අධික ශබ්දය නිසා ය. අන් අයට හිරිහැර නොවන අයුරින් හැසිරීමට පුරුදු විය යුතු ය යන්න බොහෝ අවස්ථාවල දී මා ඉගෙනගෙන තිබුණු අතර අධික ශබ්දය ද අන් අයට හිරිහැරයක් බව අසල්වැසි නිවැසියන්ට නොතේරීම පිළිබඳ මට ඇති වූයේ කනගාටුවකි. සිත එකලස් කොට ගෙන ධම්ම පදයේ අනෙකුත් ගාථා ද හොඳින් කියවීමි. අවසානයේ ලිපිය සඳහා සිත් ගත් ධම්ම පද ගාථා දෙකක් තෝරා ගතිමි. තමා උපමා කොට අන් අයට හිංසා නොකළ යුතු බව එම ගාථා දෙකෙහි ම සරල අදහස විය.

සබ්බේ තසන්ති දණ්ඩස්ස - සබ්බේ භායන්ති මච්චුනො
අත්තානං උපමං කත්වා - න හනෙය්‍ය න ඝාතයෙ

(**ධම්ම පදය** - දණ්ඩ වග්ගය)

සියල්ලෝ දඬුවමින් තැති ගනිති. සියල්ලෝ ම මරණයට බිය වෙති.
එහෙයින් තමා උපමා කොට අනුන් නොමරන්න, නොමරවන්න.

සබ්බේ තසන්ති දණ්ඩස්ස - සබ්බේසං ජීවිතං පියං
අත්තානං උපමං කත්වා - න හනෙය්‍ය න ඝාතයෙ

(**ධම්ම පදය** - දණ්ඩ වග්ගය)

සියල්ලෝ දඬුවමින් තැති ගනිති. සියල්ලෝ ම ජීවිතයට ප්‍රිය වෙති.
එහෙයින් තමා උපමා කොට අනුන් නොමරන්න, නොමරවන්න.

සඟරාවට ඇතුළු කිරීම සඳහා මෙම ගාථා දෙක මුල් කොට ගෙන ලිපිය ලිවීමට මම අදහස් කළෙමි. මගේ ලිපියේ මාතෘකාව ලෙස **හිංසනයෙන් වැළකීම** යොදා ගත්තෙමි.

මෙලොව ජීවත් වන අප සතුටින් සිටීමට කැමැති ය. අප මෙන් ම අන් අය ද එසේ ජීවත් වීමට කැමැති ය. කිසිදු අයෙක් තමාට හිංසා පීඩා කරනවාට කැමැති නොවේ. එසේ ම දුක් මහන්සියෙන් තමා උපයා ගත් දේ කිසිවෙකු විසින් සොරකම් කරනවාට අප අකැමැති ය. පොත් බෑගයේ ඇති ප්‍රිය කරන දෙයක් අන් අයෙකු ගන්නවාට අපි කිසි විටෙක කැමැති නො වෙමු. පංතියේ සිටින අනෙකුත් සිසුහු ද ඔවුන්ගේ දේ තවකකු සොරකම් කරනවාට කැමැති නොවෙති. අන් අයකු අප බොරුවෙන් රවටයි නම් හෝ අපට පරුස වචනයෙන් බැන වදියි නම් හෝ එමගින් ඇති වන්නේ වේදනාවකි. අන් අයට ද එවැනි ක්‍රියා පීඩාකාරී වන බැවින් එවැනි ක්‍රියාවන්ගෙන් වැළකී සිටිය යුතු ය. මේ අයුරින්, හිංසනයක් වන කිසිදු ආකාරයේ ක්‍රියාවකට තමා අකැමැති සේ ම අන් අය ද අකැමැති බව සිතිය හැකි නම් අපෙන් සිදු වන බොහෝ වැරැදි අඩු කර ගත හැකි ය.

අන් අයට අයහපතක් වන ක්‍රියාවන්ගෙන් වැළකී සිටීමට මෙන් ම අන් අයට යහපතක් වන කටයුතුවල නිරත වීමට ද අප උත්සාහ කළ යුතු ය. ඉගෙනීමට දක්ෂ, එහෙත් දිළිඳු හා අසරණ බවට පත් වී සිටින සිසුන්ට උදවු කිරීම, ලෙඩ දුක්වලට හා විවිධ හිංසනයන්ට ගොදුරු වූවන් ඉන් මුදා ගැනීම, එවැනි ක්‍රියාවලට නිදසුන් ය. තමා ගැන සිතා අන් අයට අවැඩ පිණිස හේතු වන ක්‍රියාවන්ගෙන් වැළකී, වැඩ පිණිස හේතු වන ක්‍රියාවන්හි නිරත වීම, බුදු දහමේ **අත්තූපනායික ධර්ම පරියාය** ලෙසින් හැඳින්වේ. මෙම ඉගැන්වීම තුළින් අපට ඉතා පහසුවෙන් හොඳ නරක තීරණය කර ගැනීමේ හැකියාව තිබේ.

ඇතැම් පුද්ගලයෝ පස් පව් කරමින් ඊට ම ඇලී ගැලී තමාට අවැඩ පිණිස ම හේතු වන කටයුතුවල යෙදෙති. ඔවුන් වඩා අගය කරන්නේ හොඳ දේට වඩා නරක දේ ය. එවැනි අවස්ථාවල දී වැරැදි ක්‍රියාවන්ට අනුබල දෙන්නන්ගේ සිත් අසතුටට පත් වුව ද අප සිදු කළ යුතු වන්නේ, ඔවුන්ට වැඩ පිණිස ම හේතු වන නිවැරැදි ක්‍රියා පමණි. මෙනිසා තමාට හා අනුන්ට වැඩ පිණිස ම හේතු වන වඩා යහපත්, හොඳ දේ පමණක් සිදු කිරීමට අප සැලකිලිමත් විය යුතු ය. වරදට යොමු වූවන්ගේ සිත් සතුටු කිරීමේ අදහසින් වරදට අනුබල දීම හෝ වරදෙහි නිරත වීම නොකළ යුතු ය. උදාහරණයක් ලෙස වැඩිහිටියකු

ඉගෙනුමට අකැමැති දරුවකුට පෙරැත්ත කොට ඉගැන්වීම එම දරුවාට හිංසනයක් ලෙස පෙනී ගිය ද අවසානයේ එය ඔහුට වැඩ පිණිස ම හේතු වන යහපත් ක්‍රියාවකි.



මිනිසුන් පමණක් නොව අනෙකුත් සියලු සත්ත්වයෝ ද හිංසාවට බිය වෙති. කුරුල්ලන්, සාවුන්, බල්ලන්, බළලුන් වැනි සතුන් අප දුටු විට පලා යන්නේ හිංසාවට ඇති බිය නිසා ය. ආදරයෙන් රැක බලා ගන්නා සතුන් අපට ළෙන්ගතු ව සිටින්නේ ද ඊට ඇති කැමැත්ත නිසා ය. එනිසා අප නිතර කටයුතු කළ යුත්තේ තමා මෙන් ම සියලු සත්ත්වයෝ ද නිදුක් වෙත්වා, නීරෝගී වෙත්වා, සුවපත් වෙත්වා, යන මෛත්‍රී සහගත සිතිවිල්ලෙනි.

## සාරාංශය



- ★ සියලු දෙනා දඬුවමට අකැමැති නිසා තමා උපමා කොට ගෙන අන් අයට හිරිහැර කිරීමෙන් වැළකිය යුතු ය.
- ★ තමා උපමා කොට ගෙන අන් අයට වැඩ පිණිස හේතු වන ක්‍රියා සිදු කළ යුතු ය.
- ★ මෙම ඉගැන්වීම අත්තූපනායික ධර්ම පරියාය ලෙසින් බුදු දහමේ ඉගැන්වේ.
- ★ අන් අය කැමැති වුව ද අවැඩට හේතු වන වැරැදි ක්‍රියාවන්ට අනුබල නොදිය යුතු ය.

## ක්‍රියාකාරකම



1. අත්තූපනායික ධර්ම පරියාය යනු කුමක් දැයි පැහැදිලි කරමින් ඡේදයක් ලියන්න.
2. මෙහි දැක්වෙන ධම්ම පද ගාථා දෙක අභ්‍යාස පොතෙහි නිවැරැදි ව ලියන්න.
3. එම ගාථා දෙකෙහි සරල අදහස ලියන්න.



## පැවරුම

1. මෙහි දැක්වෙන ධම්ම පද ගාථා දෙක නිවැරැදි උච්චාරණයෙන් යුතු ව තාලයට සජ්ඣායනා කරන්න.

# 16 රකින විට පරිසරය - රැකෙනු ඇත අප සැම

සැම වසරක ම ජූනි 05 දිනට යෙදෙන පරිසර දිනය වෙනුවෙන් බොහෝ පාසල්වල ශ්‍රමදාන, දේශන, ප්‍රදර්ශන ආදිය පවත්වනු ලැබේ. එසේ ශ්‍රමදානයක යෙදුණු රුවන්ගිරි මධ්‍ය මහා විද්‍යාලයේ 6 ශ්‍රේණියේ දරුවන් පන්ති කාමරය අසල අඹ සෙවණට කැඳවා ගත් පන්තිභාර ගුරුතුමිය පරිසර සුරක්ෂිතතාවෙහි ඇති වැදගත්කම පිළිබඳ ව ඔවුන් සමග සාකච්ඡාවක යෙදුණා ය.

"දරුවනේ සැම වසරක ම ජූනි 05 දිනය නම් කරලා තියෙන්නේ ලෝක පරිසර දිනය කියලයි. මේ දවසේ ලෝකයේ සැම රටක ම පරිසරය ආරක්ෂා කිරීමේ වැඩ සටහන් ක්‍රියාත්මක වෙනවා. අපේ පාසලේත් අද උදය වරුවේ පරිසරය පිරිසිදු කිරීමේ ශ්‍රමදානයක් පැවැත්වූයේ ඒ නිසයි. පරිසරය පිරිසිදු කිරීම වගේ ම ආරක්ෂා කිරීමත් අප කළ යුතුයි. එසේ නොකළ හොත් අපට බොහෝ හානි සිදු වෙනවා. හොඳයි ඕෂධී දුව, කියන්න බලන්න පරිසරය කියන්නේ කුමක් ද කියලා?"

"ගුරුතුමියනි, පරිසරය කියන්නේ අප අවට ඇති වටාපිටාවයි."

"පිළිතුර හරි දුවේ, මිනිසා ඇතුළු සියලු සතුන් ජීවත් වන වටාපිටාවයි කියලා කියවුණා නම් හරියට ම හරි."

"බුද්ධිකට කියන්න පුළුවන් ද මේ වටාපිටාවට අයත් අංග කිහිපයක් ?"

"මිනිස්සු, අනෙකුත් සියලු සතුන්, ගස්වැල්, ජලය, පස ආදිය නේද ගුරුතුමියනි?"

"ඔව් පුතේ, ඊට අමතර ව හිරු එළිය, වාතය, කඳු, පර්වත, දියඇලි, ගංගා, ඇළ දොළ, වැව් පොකුණු එහෙමත් ඇතුළත් වෙනවා. පරිසරයට අයත් මේ සැම දෙයක් ම මිනිසාගේ පැවැත්මට උපකාරී වෙනවා."

"එරංග, පරිසරයෙන් අපට ලැබෙන ප්‍රයෝජන මොනවා ද පුතේ ?"

- ⋆ හොඳ වතුර ලැබෙනවා
- ⋆ ශාක ආහාර ලැබෙනවා
- ⋆ වාතාශ්‍රය ලැබෙනවා
- ⋆ හිරු එළිය ලැබෙනවා

"ඔබ කිවූ ඒවා හරි. අපේ පැවැත්මට අවශ්‍ය ආහාර, නිවාස, ඇඳුම් හා ඖෂධ සකස් කර ගන්නේ පරිසරයෙන්. උදාහරණයක් වශයෙන් අපට නිවසක් ඉදි කර ගැනීමට අවශ්‍ය දැව, ගඩොල්, වැලි ආදිය ලබා ගන්නේ පරිසරයෙන්. අපේ ආහාරපාන සඳහා යොදා ගන්නා සෑම දෙයක් මත්, ඇඳුම් සකස් කර ගැනීමට ගන්නා සෑම දෙයක් මත්, ශරීරයේ නීරෝගතාව ආරක්ෂා කර ගැනීමට යොදා ගන්නා ඖෂධ වර්ගත් පරිසරයේ ඇති සම්පත් යොදා ගෙන තමයි නිෂ්පාදනය කරලා තියෙන්නේ. ඒ නිසා මිනිසාට පරිසරයෙන් තොර පැවැත්මක් නැහැ. පරිසරය විනාශ වූ දාට මිනිසා ඇතුළු මුළු මහත් මිහිතලයේ ම අවසානය සිදු වෙන බව හිතට ගන්න දුවේ, පුතේ."



"මේ සුන්දර පරිසරය දූෂණය වෙන්නේ, විනාශ වෙන්නේ කොහොම ද කියලා නිපුන පුතාට කියන්න පුළුවන් ද?"

- ★ වනාන්තර විනාශ කිරීම
- ★ ගංගා ඇළ දොළවලට අපද්‍රව්‍ය බැහැර කිරීම
- ★ වනගත සතුන් මරා දැමීම
- ★ ඝෝෂාකාරී ශබ්ද පිට කිරීම

"නිපුන කියූ කරුණුවලට අමතර ව කර්මාන්ත ශාලාවලින් පිට වන විෂ

වායු නිසා, රටවල් අතර පවතින යුද්ධවලින් වගේ ම අපේ අය කරන යම් යම් ක්‍රියාකාරකම්වලින් පරිසරය අපිරිසිදු වෙනවා. බලන්න සමහරුන් ඉවක් බවක් නැතුව කරන දේවල් දිහා, මහ මඟ වාහනයක හෝ පයින් යන විට අප ආහාරයට ගන්නා කඩල, රටකජු, බිස්කට්, යෝගට් ආදියේ ඉතිරි කොටස් මහ මගට දානවා. කොළවල කෑම ඔතා ගෙන ඇවිල්ලා ආහාරයට ගෙන අපද්‍රව්‍ය බැහැර කරන බඳුනක් හොයලා දාන්නේ නැතුව තැන තැන දාලා යනවා. සතුන් ඒවා ඇද දමලා මුළු පරිසරය ම අපවිත්‍ර වෙනවා. වතුර හා පැණිබීම බෝතල් භාවිතයත් එහෙමයි. කඩේට බඩු ගේන්න නියමිත මල්ලක් හෝ බෑගයක් අරගෙන නොයන නිසා පොලිතින් මලු රැසක් ගෙදරට ගේනවා. මුළු ගෙවත්ත ම මේ නිසා විනාශ වෙනවා. අපේ පාසලට පොලිතීන් ගෙන ඒම තහනම් කරල තිබුණත් උදේ ශ්‍රමදානය වෙලාවේ මොන තරම් පොලිතීන් හා ප්ලාස්ටික් බෝතල් හමුවෙලා විනාශ කළා ද? දරුවනේ ඒවා දිරන්නේ නැති අපද්‍රව්‍ය නිසා පරිසරයට හුඟක් ම හානි කරයි.

බලන්න දරුවනේ, අපේ රටේ ඓතිහාසික හෝ සුන්දර ස්ථානයක් නැරඹීමට ගියා ම එම පරිසරයට කරලා තියෙන විනාශය! එම ස්ථානවල මොන තරම් අපද්‍රව්‍ය ප්‍රමාණයක් මිනිසුන් දාල ගිහිල්ලා තියෙනව ද? ඒ නිසා එම සුන්දර පරිසරය විනාශ වෙලා. සමහර මිනිසුන් මේ ස්ථානවලට මත් වතුර බෝතල් අරගෙන ගිහින් බීලා ඒ බෝතල් එම ස්ථානවල ම බිඳලා ගිය අවස්ථා දකින්න පුළුවන්. ඒවා ඉතා ම නරක ක්‍රියා නේද?

මේ වන විට අපේ රටේ විශාල වශයෙන් කෘෂි රසායනික ද්‍රව්‍ය භාවිත කෙරෙනවා. මේ නිසා ජලයට, පසට, ගහකොළවලට මෙන් ම මිනිසා ඇතුළු ලොකු කුඩා සෑම සත්වයෙකුට ම මහා හානියක් සිදු වෙනවා. ඒ නිසා සෑම කෙනෙක් ම පරිසරයට ආදරය කරන්න ඕනෑ. පරිසරය විනාශ වෙනවා කියන්නේ අප සියලු දෙනාගේ විනාශයයි. අපේ මිනී වළ අප ම කපා ගැනීමක්. පරිසරය මේ විදියට දූෂණය වීමෙන් ඇති වන ගැටලු මොනවා ද කියල කාවින්ද්‍යාට කියන්න පුළුවන් ද?”

- ගහකොළ විනාශ වීමෙන් වැස්ස අඩු වෙනවා
- බීමට පිරිසිදු ජලය නැති ව යනවා
- සතා සිව්පාවා විනාශ වෙනවා
- නාය යෑම් සිදු වෙනවා
- මිනිසුන්ට බොහෝ රෝගාබාධ වැළඳෙනවා
- වගා කිරීමට ඇති පස නිසරු වෙනවා

"බොහොම හොඳයි, කාවින්ද්‍යා කියූ කරුණු සියල්ල හරි. ඔබ කියූ ආකාරයට ගහකොළ විනාශ වීමෙන් කාන්තාර ඇති වෙනවා. වැස්ස අඩු වීම නිසා බොහෝ ගැටලු ඇති වෙනවා. අද වන විට පෘථිවියේ ඇති මුළු ජල ප්‍රමාණයෙන් බීමට ගත හැකි ජල ප්‍රතිශතය 0.34ක් වගේ සුළු ප්‍රමාණයක්. ඒ ටිකත් අපවිත්‍ර වුණොත් මිනිසුන්ට බොහෝ කරදරවලට මුහුණ පෑමට සිදු වෙනවා. බොහෝ රෝගාබාධවලට හේතුව පරිසරය දූෂණය වී තිබීමයි.

ඩෙංගු, මැලේරියා, බරවා, කොලරාව වැනි රෝගාබාධ පමණක් නොව වකුගඩු රෝග, පෙණහැලි ආශ්‍රිත රෝග, අධික රුධිර පීඩනය වැනි රෝග ඇති වීමට මේ තත්ත්වය බලපානවා. ඒ නිසා පරිසරය ආරක්ෂා කිරීමට අප කවුරුත් උනන්දු විය යුතුයි.

දුවේ, පුතේ, මේ ලෝකයේ නිහඬ සුන්දර පරිසරයට බෙහෙවින් ඇලුම් කළ ශ්‍රේෂ්ඨ පුද්ගලයෙක් තමයි අපේ බුදු හාමුදුරුවෝ. උන් වහන්සේ තමන්ගේ ජීවිතයේ වැඩි කාලයක් ගත කළේ ස්වාභාවික පරිසරය ඇසුරු කර ගෙනයි. බුදු තෙමගුල සිදුවුණේ ස්වාභාවික පරිසරය තුළයි. නවීන්ට කියන්න පුළුවන් ද බුදු තෙමගුල කියන්නෙ කුමක් ද කියලා?"

"සිදුහත් බෝසතාණන්ගේ ඉපදීම, බුදුවීම, පිරිනිවන් පෑම නේද ගුරුතුමියනි?"

"එම තෙමගුල ම සිදු වූයේ පරිසරය ආශ්‍රිතවයි. බුදුරජාණන් වහන්සේ පරිසරයට දක්වූ ඇල්ම එයින් පෙනෙනවා. උන් වහන්සේ බුද්ධත්වයට පත් වෙලා සතියක් බෝධීන් වහන්සේ දෙස බලා සිටියේ කළගුණ සැලකීමේ අගය ලෝකයට පෙන්නුම් කිරීමට; එමෙන් ම ගහකොළවලට පවා ආදරය කළ යුතු බව ඉගැන්වීමට. එපමණක් නොව බුදුරජාණන් වහන්සේ දහම් දෙසුවේ ද විවේක හා වැසි කාලය ගත කළේ ද ස්වාභාවික පරිසරය තුළයි; වනපෙත්, ගල් ලෙන් හා ආරාමවලයි. පරිසරය ආරක්ෂා කර ගැනීමට අදාළ බොහෝ ඉගැන්වීම් බුදු දහමේ ඇතුළත් වෙනවා. වන උයන් විනාශ කරනවා වෙනුවට ඒවා පිහිටුවීම හා ආරක්ෂා කිරීම නිසා මිනිසුන්ට පින් ලැබෙන බව උන් වහන්සේ දේශනා කරලා තියෙනවා. උපසම්පදා භික්ෂූන් වහන්සේලා ගස් වැල් කැපීම පමණක් නොව කොළ අතු කැඩීම පවා වැරැද්දක් බව පෙන්වා දී තියෙනවා. නිල්වන් තණකොළ මත මලමුත්‍රා හෙළීම, කුණුරොඩු හා ඉඳුල් දැමීම පවා භික්ෂූන් වහන්සේලාට තහනම් කළා. වැසි කාලයේ භික්ෂූන් වහන්සේලාට නිශ්චිත ස්ථානයක වැඩ වසන ලෙස අනුදැන වදාරා තියෙනවා. ඒ සියල්ල කළේ පරිසරය ආරක්ෂා කර ගැනීමේ අරමුණ ද පෙරදැරි කර ගෙනයි."

ජලයේ පිරිසිදු බව රැක ගැනීම සඳහාත් බුදුරජාණන් වහන්සේ විවිධ උපදේශ දී තිබෙනවා. ජලයට මලමුත්‍රා කිරීමත්, කෙළ ගැසීමත් භික්ෂූන් වහන්සේලාට තහනම් කළේ ඒ නිසයි; වැස්ස මිතුරෙකු ලෙස හඳුන්වා දුන්නේ ද පරිසරයට තිබුණ ඇල්ම නිසයි. උන් වහන්සේ කරණීයමෙත්ත සූත්‍රයේ දී සතුන් පිළිබඳ ව වර්ගීකරණයක් කරමින් සියලු ම සතුන්ට මෛත්‍රිය කළ යුතු බව පෙන්වා දී තිබෙනවා. ඒ තුළින් සියලු සත්වයින්ගේ ආරක්ෂාව තහවුරු කළේ සතුන් ද පරිසරයේ කොටසක් වන නිසයි. සියලු ම සතුන් ආරක්ෂා කිරීම රජවරුන්ගේ වගකීමක් ලෙස දැක්වූයේ ද පරිසරය ආරක්ෂා කර ගැනීමේ අරමුණ ඇතිවයි.

එපමණක් නොවේ දරුවනේ, උන් වහන්සේ ධර්මය දේශනා කරන විට උපමා වශයෙන් පරිසරයේ ඇති සතුන්, ශාක, ජලය ආදී බොහෝ දේ යොදා ගෙන තියෙනවා. ඒ මගින් ද පැහැදිලි වන්නේ බුදුරජාණන් වහන්සේ පරිසරයට කොතරම් ඇලුම් කළේ ද යන්නයි. ඒ නිසා අපි කවුරුත් පරිසරයට ආදරය කරන්න පුරුදු වෙමු. පරිසරයට අප ආදරය කළොත් පරිසරය අප ආරක්ෂා කරනු ඇත. ඒ වගේ ම පරිසරය වර්තමානයේ ජීවත් වන මිනිසාට පමණක් අයත් වූවක් නොවේ. එය අනාගතයේ ජීවත් වන මිනිසුන් ඇතුළු සියලු සත්ත්වයින්ට අයත් එකක්. එබැවින් අනාගත පරම්පරාවට ද සොඳුරු පරිසරයක් උරුම කර දීම අප කාගේත් යුතුකමක් බව ලෝක පරිසර දිනයේ අපි කවුරුත් සිතට ගනිමු.”

## සාරාංශය

පරිසරය යනු මිනිසා ඇතුළු අප අවට ඇති වටාපිටාවයි. මිනිසා ඇතුළු ජීවීන්ගේ පැවැත්මට පරිසරය අතිශයින් ප්‍රයෝජනවත් වේ. පරිසරය දූෂණය වීමෙන් බොහෝ ගැටලු මතු වේ. ඒ නිසා එය ආරක්ෂා කර ගැනීම මිනිසාගේ පරම යුතුකමකි. බුදුරජාණන් වහන්සේ පරිසරයට බොහෝ සෙයින් ඇලුම් කළ නිසා පරිසරය ආරක්ෂා කර ගැනීමට අදාළ ඉගැන්වීම් රැසක් ඉදිරිපත් කර ඇත. එම කරුණු ද සැලකිල්ලට ගෙන පරිසරය ආරක්ෂා කර ගැනීමට අපි කැප වෙමු.

## ක්‍රියාකාරකම



01. ගෙවත්ත පිරිසිදු ව තබා ගැනීමට ඔබ කරන දේවල් මොනවා දැයි ලියා දක්වන්න.

02. පරිසරය දූෂණයට හේතු වන මිනිස් ක්‍රියාකාරකම් සතරක් ලියන්න.

## පැවරුම



පරිසරයේ අලංකාරය, ආරක්ෂාව ඇති කිරීමට දිනපතා ඔබ කරන ක්‍රියාකාරකම් සාධු චරියා පුස්තකයේ සටහන් කොට බුද්ධ ධර්මය විෂය උගන්වන ගුරුතුමාට හෝ ගුරුතුමියට හෝ සතිපතා පෙන්වන්න.

## පුහුණුවට



ආරාම රෝපා වන රෝපා - යේ ජනාසේතු කාරකා
පපඤ්ච උදපානඤ්ච - යේ දදන්ති උපස්සයං
ධම්මට්ඨා සීල සම්පන්නා - තේ ජනා සග්ග ගාමිනෝ
තේසං දිවාච රත්තෝච - සදා පුඤ්ඤං පවඩ්ඪති

කෙත් වතු - වන උයන් වවන්නා වූද, ඒ දඬු (පාලම්) කරවන්නා වූද, පැන්හල් පැන්පොකුණු කරවන්නා වූද, වාසස්ථාන කරවා දෙන්නා වූද, සිල්වත් හා දැහැමි වූද, ජනයා දෙව්ලොවට යයි. ඔවුන්ට සැමදා දිවා රාත්‍රී පින් වැඩේ.

# 17 මිහිඳු මාහිමි සමය වෙත යමු

අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේ භාරතයේ විසූ ධර්මාශෝක මහාධිරාජයාණන්ගේ පුතණුවෝ ය. බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පා වසර 236දී පවත්වන ලද තුන් වන ධර්ම සංගායනාවේ ප්‍රතිඵලයක් වශයෙන් ප්‍රදේශ නවයකට ධර්ම ප්‍රචාරක භික්ෂු පිරිස් පිටත් කර හරින ලදි. එහි දී ලක්දිව ධර්ම ප්‍රචාරක සේවාවේ මූලිකත්වය ගනු ලැබුවේ මිහිඳු මහරහතන් වහන්සේ විසිනි. උන් වහන්සේ සමග ඉට්ඨිය, උත්තිය, සම්බල, භද්දසාල නම් වූ රහතන් වහන්සේලා හතර නමක් ද සුමන නම් සාමණේර නමක් ද භණ්ඩුක නම් උපාසක කෙනෙක් ද ලක්දිවට පැමිණියහ.

පොසොන් පොහෝ දින අප සිහිපත් කරන්නේ එම අසිරිමත් මහින්දාගමනයයි. එකල ලක්දිව පාලනය කළේ දේවානම්පියතිස්ස රජතුමා ය. ඒ දිනය නැකැත් උත්සව දිනයකි. එහි විශේෂත්වය වූයේ පාලකයා ඔහුගේ පිරිස සමග මුව දඩයමේ යෙදීමයි. සිරිත් පරිදි පර්වතය අසල දඩයමේ යෙදුණු දේවානම්පියතිස්ස රජතුමාට පර්වතය මතින් "තිස්ස, තිස්ස" යනුවෙන් කිසිවකු තමා අමතන හඬක් ඇසුණි.

රටේ පාලකයා වන තමාට නම කියා කතා කළ හැකි අයකු මෙරට නොමැති නිසා රජු පුදුමයෙන් වටපිට බැලී ය. එවිට රජතුමාට දක්නට ලැබුණේ තමන් මීට පෙර නොදුටු පිරිසකි. එම පිරිසගෙන් "ඔබ කවුරුන් ද?" යි හෙතෙම විමසී ය. එවිට ලැබුණ පිළිතුර මෙසේ ය.

**සමණාමයං මහාරාජ - ධම්මරාජස්ස සාවකා**
**තවේව අනුකම්පාය - ජම්බුදීපා ඉධාගතා**

"මහරජ, අපි ධර්මරාජයාණන් වහන්සේගේ ශ්‍රාවකයෝ වෙමු. ඔබට අනුකම්පා පිණිස දඹදිව සිට මෙහි පැමිණියෙමු'' එම පිළිතුර දෙනු ලැබුවේ මිහිඳු මහරහතන් වහන්සේ විසිනි.

එයින් දෙවනපෑතිස් රජතුමාට සිහියට නැගුණේ එවකට භාරතයේ නායකත්වය දැරූ සිය නොදුටු මිතුරු ධර්මාශෝක රජතුමා ය. එම රජතුමා මීට පෙර බුදුන්, දහම්, සඟුන් සරණ ගිය බවත් තමන්ට ද තෙරුවන් සරණ යන ලෙස කළ ඉල්ලීමත් දේවානම්පියතිස්ස රජතුමාට සිහිපත් විය. රජතෙමේ තමා අත රැඳුණු දුනු හී පසෙක ලා මිහිඳු මහරහතන් වහන්සේ ප්‍රධාන මහ සඟරුවනට වැඳ නමස්කාර කළේ ය.

ඒ අවස්ථාවේ මිහිඳු මහරහතන් වහන්සේ සහ රජතුමා අතර ඇති වූයේ මෙබඳු සංවාදයකි.



"රජතුමනි, මේ ගස කුමක් ද?"
"ස්වාමීනි, මෙය අඹ ගසකි."
"රජතුමනි, මේ අඹ ගස හැර තවත් අඹ ගස් තිබේ ද?"
"එසේ ය ස්වාමීනි, තවත් අඹ ගස් තිබේ."
"රජතුමනි, මේ අඹ ගසත් ඒ අඹ ගසුත් හැර තවත් ගස් තිබේ ද?"
"එසේ ය ස්වාමීනි, නමුත් ඒවා අඹ ගස් නොවේ."
"රජතුමනි, ඒ අඹ ගසුත් අඹ නොවන ගසුත් හැර තවත් ගස් තිබේ ද?"
"එසේ ය ස්වාමීනි, ඒ මේ අඹ ගසයි."

"රජතුමනි, ඔබට නෑයෝ සිටිත් ද?"
"එසේ ය ස්වාමීනි, බොහෝ සිටිති."
"රජතුමනි, ඔබට නොනෑයෝත් සිටිත් ද?"
"එසේ ය ස්වාමීනි, බොහෝ සිටිති."
"රජතුමනි, එම නෑයෝත් නොනෑයෝත් හැර තවත් අය සිටිත් ද?"
"එසේ ය ස්වාමීනි, ඒ මමයි."

මෙම අඹ ප්‍රශ්නයට හා ඥාති ප්‍රශ්නයට ලබා දුන් පිළිතුරුවලින් රජතුමා බුද්ධිමත් අයකු බව මිහිඳු මාහිමියනට වැටහුණි. ඉන් අනතුරුව එතුමන් ඇතුළු රැස් ව සිටි පිරිසට මිහිඳු මහරහතන් වහන්සේ චූලහත්ථිපදෝපම සූත්‍රයෙන් ධර්මය දේශනා කළහ. එම දේශනාව ඇසූ රජු ඇතුළු පිරිස තෙරුවන් සරණ ගිය උපාසකවරුන් බවට පත් වූහ. තෙරුවන් සරණ යෑම උපාසකයකු වීමේ මූලික පියවර වේ. මිහිඳු මහරහතන් වහන්සේ සමග වැඩම කළ සුමන  සාමණේරයන් වහන්සේ මෙම සූත්‍රය අසා රහත් වූහ. අනතුරුව මිහිඳු මහරහතන් වහන්සේ ප්‍රධාන ධර්මදූතයන් වහන්සේලා විසින් දේවානම්පියතිස්ස රජු ඇතුළු පිරිස ඉදිරියෙහි භණ්ඩුක නම් අනාගාමී උපාසකතුමා පැවිදි කරවන ලදි. මෙම සිදුවීම් අවසානයේ දී දේවානම්පියතිස්ස රජතෙමේ දැඩි ලෙස පැහැදීමට පත් ව තම රාජ්‍යයේ අගනුවර වූ අනුරාධපුරයට වැඩම කරන ලෙසට මිහිඳු මහරහතන් වහන්සේ ප්‍රමුඛ ධර්මදූත පිරිසට ආරාධනා කළේ ය.

එම ආරාධනය පිළිගත් මිහිඳු  මහරහතන් වහන්සේ ඇතුළු ධර්මදූත පිරිස  පසු දින අනුරාධපුරයට වැඩම කළහ. රජතුමා මේ පිරිස ගෞරවයෙන් පිළිගෙන රජ මාළිගයට වැඩම කරවා දන් පිළිගැන්වී ය. දන් වළඳා අවසානයේ දේශනා

කරන ලද ධර්මය අසා මහානාග යුව රජුගේ බිසව වූ අනුලා දේවිය ඇතුළු කාන්තාවෝ පන්සියයක් දෙනා සෝවන් වූහ. මේ වන විට ධර්ම ශ්‍රවණයට විශාල පිරිසක් පැමිණ සිටි බැවින් රජ මාළිගය ඉඩ මදි වූ නිසා ඇත් හල ද පිරිසිදු කර සකස් කර දෙන ලදි. එය ද ඉඩ මදි වූ බැවින් නන්දන උයන ඒ සඳහා සූදනම් කෙරිණි. රාත්‍රී කාලයේ දී මිහිඳු මහරහතන් වහන්සේ ඇතුළු පිරිසට වැඩ සිටීමට මහමෙවුනා උයන පූජා කෙරිණි. එහි ඉදි කළ මුල් ම ගොඩනැගිල්ල **කාලපාසාද පිරිවෙන** නම් විය. එය අපේ මුල් ම පන්සලයි.

ධර්මදූත පිරිස දින විසිහයක් මහමෙව්නා උයනේ වැඩ සිටි බව සඳහන් වෙයි. අනතුරුව වස් විසීමට කාලය පැමිණි හෙයින් ඒ සඳහා වැඩම කළේ චේතියගිරියටයි. චේතියගිරිය නම් වර්තමාන මිහින්තලයයි. වස් වසන දිනයේ රජතුමාගේ බෑනණුවන් වූ **අරිට්ඨ කුමාරයා** ඇතුළු පනස් පස් දෙනෙක් පැවිද්ද ලබාගත්හ. බුද්ධ ශාසනයේ පැවිද්ද ලැබූ මුල් ම ශ්‍රී ලාංකිකයා ලෙස ඉතිහාසගත වන්නේ ද අරිට්ඨ කුමාරයා ය. මේ සියලු ම ස්වාමීන් වහන්සේලාට වස් විසීම සඳහා රජතුමා විසින් මිහින්තලයේ ගල්ලෙන් රැසක් ශුද්ධ පවිත්‍ර කරවා පූජා කරන ලදි.

වස් අවසානයේ මිහිඳු මහරහතන් වහන්සේගේ උපදෙස් පරිදි සුමන සාමණේරයන් වහන්සේ දඹදිවට වැඩම කළහ. උන් වහන්සේ විසින් බුදුරජාණන් වහන්සේගේ **දකුණු අකු ධාතූන් වහන්සේ** ලක්දිවට වැඩම කරවන ලදි. **ථූපාරාම චෛත්‍යය** ඉදිකරන ලද්දේ එම ධාතූන් වහන්සේ නිදන් කිරීම සඳහා ය. එය ලංකාවට බුදු දහම ලැබීමෙන් අනතුරුව ඉදි වූ ප්‍රථම ස්තූපයයි. පඨමක චේතිය නමින් ද එය හැඳින්වේ.

වස් කාලය අවසානයේ අනුරාධපුර නගරයට වැඩම කළ මහ සඟරුවනට වැඩ සිටීම සඳහා රජතුමා විසින් විහාර ආරාම කරවන ලදි. ඉස්සරසමණ විහාරය (ඉසුරුමුණිය), වෙස්සගිරිය හා චේතියගිරිය ඒවායින් කිහිපයකි. පැන් පොකුණු ද සංඝාරාම රැසක් ද සීමා මාලකයක් ද ඉදිකරවන ලදි.

මිහිඳු මහරහතන් වහන්සේ ඇතුළු ධර්ම දූත පිරිස ශ්‍රී ලංකාවට වැඩම කිරීමේ ඓතිහාසික සිදුවීමත් සමග මෙරට ජනතාවට නිර්මල ථේරවාද බුදු දහම සමග තවත් දයාද රැසක් ලැබිණි.

- ★ අවිධිමත් ඇදහිලිවල නිරත ව සිටි ලක් වැසියන්ට විධිමත් පුද පූජා ක්‍රමයක් ලැබීම
- ★ භික්ෂු සමාජය ඇති වීම
- ★ සර්වඥ ධාතූන් වහන්සේ වැඩම කරවීම
- ★ ස්ථූප ඉදිවීම
- ★ දුමින්දාගමනය

මිහිඳු මහ රහතන් වහන්සේට අප විසින් කළ යුතු උසස් ම ගෞරවය වන්නේ ධර්මානුකූල ජීවිතයක් ගත කරමින් මේ උතුම් ශාසනික දායාද ආරක්ෂා කිරීමයි.

## සාරාංශය

බුදු දහම වැනි ශ්‍රේෂ්ඨ දහමක් ශ්‍රී ලාංකික අපට උරුම වූයේ මහින්දාගමනය නිසා ය. පාලකයන් මෙන් ම ජනතාව අසංවිධානාත්මක ආගමික විශ්වාසවලින් බැහැර ව බුදු දහම වැළඳ ගැනීමත්, ඒ අනුව අපේ සංස්කෘතිය සකස් වීමත් සිදු විය.

- ★ ශ්‍රී ලාංකික භික්ෂු පරපුරක් බිහි වීම
- ★ සර්වඥ ධාතු තැන්පත් කොට ස්තූප ඉදි වීම
- ★ වෙහෙර විහාර ඉදි වීම
- ★ බෞද්ධ පුද පූජා ක්‍රමයක් ඇති වීම
- ★ දේශීය සාහිත්‍යය පෝෂණය වීම
- ★ අධ්‍යාපනය සංවර්ධනයට පත් වීම

මහින්දාගමනයෙන් අප ලද දායාද රාශියෙන් කිහිපයක් පමණි. මෙම ආගමික දායාද ආරක්ෂා කර ගැනීම අප හැම දෙනෙකුගේ ම යුතුකම වේ.

## ක්‍රියාකාරකම



01. මිහිඳු මහරහතන් වහන්සේ ලක්දිව දී දේශනා කළ ප්‍රථම සූත්‍ර දේශනාව නම් කරන්න.

02. මිහිඳු මාහිමියන් හා දෙවනපෑතිස් රජතුමා අතර ඇති වූ දෙබස සංවාදාත්මක ව ඉදිරිපත් කරන්න.

03. පහත සඳහන් වගුවේ එක් එක් ශීර්ෂයට අදාළ පිළිතුරු ලියන්න.

| මිහිඳු මාහිමියන් සමග ලක් බිමට වැඩම කළ පිරිස | පළමු වැනි ලාංකික භික්ෂූන් වහන්සේ | මුල් ම පන්සල | මුල් ම ස්තූපය හා එහි තැන්පත් කළ ධාතූන් වහන්සේ |
|---|---|---|---|
| | | | |

## පැවරුම



මහින්දාගමනය දක්වෙන පින්තූරයක් සකස් කොට නිවසේ වන්දනා ස්ථානයෙහි තබන්න.

# 18 ශාසනික දායාද සුරකිමු

අවුරුද්දේ අවසාන පොහොය උඳුවප් පුර පසළොස්වක ය. ශ්‍රී ලාංකික බෞද්ධයිනට පොසොන් පොහොය තරමට ම මෙම උඳුවප් පොහොය ද ශාසනික වශයෙන් ප්‍රධාන කරුණු දෙකක් නිසා වැදගත් වෙයි.

★ සංඝමිත්තා තෙරණියගේ වැඩමවීම නිසා මෙරට භික්ෂුණී ශාසනය ඇති වීම
★ ශ්‍රී මහා බෝධීන් වහන්සේ වැඩම කරවීම නිසා මෙරට සංස්කෘතික පරිවර්තනයක් ඇති වීම

මිහිඳු මහ රහතන් වහන්සේගෙන් බණ ඇසූ අනුලා දේවිය ඇතුළු කාන්තාවන් පන්සියක් දෙනා තමන්ට ද පැවිදි වීමට අවශ්‍ය බව රජුට දැන්වූහ. රජු ද මේ පිරිස පැවිදි කරවන ලෙසට මිහිඳු මහ රහතන් වහන්සේගෙන් කාරුණික ව ඉල්ලීම් කර ඇත. මිහිඳු හිමිපාණෝ තමන්ට ස්ත්‍රීන් පැවිදි කිරීම කළ නොහැකි බව දන්වමින් පැළලුප් නුවර වැඩවසන තම නැගණිය වූ **සංඝමිත්තා තෙරණියත්, ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේගේ දක්ෂිණ ශාඛාවත්** වැඩම කරවීමට කටයුතු කරන ලෙස රජුට දැන්වූහ. රජ තෙමේ තම බෑණා වූ අරිට්ඨ කුමරුන් ඇතුළු දූත කණ්ඩායමක් සඟමිත් තෙරණිය ඇතුළු පිරිස වැඩම කරවීම සඳහා ධර්මාශෝක රජතුමා වෙතට යවන ලදි.

පැළලුප් නුවර දී ධර්මාශෝක රජතුමා මෙම පිරිස පිළිගෙන ඔවුන්ගේ ඉල්ලීම ඉටු කිරීමට කටයුතු කළේ ය. ඒ අනුව ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේගේ දක්ෂිණ ශාඛාව රත්‍රන් පාත්‍රයක තැන්පත් කොට නිසි පූජා පවත්වා සඟමිත් තෙරණිය සමග ලංකාවට වැඩම කරලීමට කටයුතු කරන ලදි. රජතුමා විසින් බෝධීන් වහන්සේගේ ආරක්ෂාව හා වතාවත් සඳහා වෘත්තීන් (ශිල්ප ශ්‍රේණි) දහඅටකට අයත් ජන කොටස් ද මෙහි එවන ලදහ.

බෝධි ශාඛාව රැගත් සඟමිත් තෙරණිය ඇතුළු පිරිස නැව් නැග දඹකොළ පටුන වරාය දක්වා වැඩම කළහ. ඉන් පසු දේවානම්පියතිස්ස රජතෙමේ කරවටක් දක්වා මුහුදේ බැස ජය ශ්‍රී මහා බෝධි ශාඛාව ගොඩ බිමට වැඩම

කරවී ය. අනතුරුව දඹකොළ පටුනේ සිට මහ පෙරහැරින් බෝධීන් වහන්සේ ප්‍රමුඛ පිරිස විවිධාකාරයේ පුද පූජා සහිත ව අනුරාධපුර නගරයට වැඩම කරවන ලදහ.



උඳුවප් පුර පසළොස්වක පොහෝ දින ලංකාවේ විවිධ ප්‍රදේශවලින් පැමිණි ජනතාවගේ පූජා උපහාර මධ්‍යයේ අනුරාධපුර මහමෙව්නා උයනේ දී බෝධි රෝපණය සිදු විය. ශ්‍රී මහා බෝධීන් වහන්සේ මෙරටට වැඩම කරවීම **බෝධි ආගමනය** ලෙසත් **දුමින්දාගමනය** ලෙසත් හැඳින්වේ. දුමිඳු ලෙස හැඳින්වෙන්නේ ද බෝධීන් වහන්සේ ය.

උඳුවප් පොහොයෙහි අනෙක් වැදගත්කම වන්නේ මෙරට භික්ෂුණී සමාජයක් ඇති වීමයි. සඟමිත් තෙරණියගෙන් පැවිද්ද ලබා ගැනීමේ අපේක්ෂාවෙන් මේ වන විට අනුලා දේවිය ඇතුළු 500ක් දෙනා මෙහෙණ අසපුවක වැඩ සිටියහ. මේ පිරිස පැවිදි කරවීම මෙදින සිදු විය. ශ්‍රී ලංකාවේ පැවිද්දට පත් මුල් ම කාන්තාව ලෙස ගෞරවාදයට පත් වන්නී දේවානම්පියතිස්ස රජුගේ සහෝදර මහානාග යුවරජුගේ බිසව වූ **අනුලා දේවියයි.**

දේවානම්පියතිස්ස රජතුමා විසින් සඟමිත් තෙරණිය ඇතුළු භික්ෂුණීන් වහන්සේලාට වැඩ සිටීමට ආරාමයක් කරවා පූජා කරන ලදි. **හත්ථාලක මෙහෙණවර** ලෙස එය හැඳින්විණි.

ශ්‍රී මහා බෝධීන් වහන්සේ ශ්‍රී ලංකාවට වැඩමවීම අප රටේ විශාල සංස්කෘතික දියුණුවක් ඇති වීමට හේතු විය. ලාංකික බෞද්ධයෝ ජීවමාන බුදුරදුන්ට ගෞරව පුද සත්කාර කරන අයුරින් ම බෝධීන් වහන්සේට ද සැලකිලි දැක්වීමට පෙලඹුණහ. එයට ප්‍රධානතම හේතුව එය බුදුරජාණන් වහන්සේට, බුදුවීමට පිටදුන් ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේගේ ශාඛාවක් වීමයි. උන් වහන්සේට බුදුවීමට මෙය උපකාරී වූ නිසා ම පාරිභෝගික චෛත්‍යයක් ලෙස ද වන්දනාවට පාත්‍ර වේ.

මහින්දාගමනයට පෙර ලාංකිකයන් වෘක්ෂ වන්දනාවෙහි නිරත ව සිටිය ද බෝධිය වැඩම කරවීමත් සමග ඒ තත්ත්වය වෙනස් වී ඔවුහු බෝධි වන්දනයට හුරු වූහ. අනුරාධපුර ශ්‍රී මහා බෝධීන් වහන්සේගෙන් හටගත් පලවලින් උපන් ශාඛා ලබාගෙන ලංකාවේ විවිධ ප්‍රදේශවල රෝපණය කිරීමත් සමග බෝධි වන්දනය ප්‍රචලිත විය. වර්තමානයේ බෝධි පූජා පැවැත්වීම සෑම විහාරස්ථානයක ම සිදු කෙරෙන්නක් බවට පත් වී ඇත. රෝගාබාධවලින් සුවය ලැබීම, අපල උවදුරු දුරු වීම, විවිධ ගැටලු නිරාකරණය කර ගැනීම, විවිධ ජයග්‍රහණ ලබා ගැනීම ආදී වශයෙන් නොයෙකුත් අරමුණු ඉටු කර ගැනීම සඳහා බෝධි පූජා පවත්වනු ලැබේ.

බෝධීන් වහන්සේගේ ආරක්ෂාව සඳහා බෝධි ශාඛාව සමග ධර්මාශෝක රජතුමා විසින් එවන ලද පිරිස් දහඅට, විවිධ ශිල්ප කලාවන්හි නිපුණතා ඇත්තෝ වූහ. මේ අය නිසා මෙරට කලා ශිල්පවල විශාල දියුණුවක් ඇති විය. අප රටෙහි පවත්නා අහස්කුස සිපගන්නා ස්තූප, ලොවක් මවිත කරවන මූර්ති හා කැටයම්, අලංකාර ගෘහ නිර්මාණ, නෙත් සිත් පැහැර ගන්නා වූ සිතුවම්, කලා

රස වැහෙන සාහිත්‍ය නිර්මාණ, ලෝකයේ සෙසු ජාතීන්ගේ සම්භාවනාවට ලක්වන උතුම් සිරිත් විරිත් ආදි සෑම අංශයක ම දියුණුවක් ඇති වීමට දුමින්දාගමනය ද හේතු විය. එබැවින් දුමින්දාගමනය යනු හුදෙක් ලංකාවට ශ්‍රී මහා බෝධීන් වහන්සේ වැඩම කරවීම පමණක් නොව මෙරට විශාල සමාජ සංවර්ධනයක සමාරම්භය ද වේ.

දිගු ඉතිහාසයකට හිමිකම් කියන මෙම සංස්කෘතික උරුමයන් ආරක්ෂා කිරීමට අප ක්‍රියා කළ යුතු ව ඇත. ඓතිහාසික ස්ථාන නැරඹීමට ගිය විට ඒවාට හානි නොවන ලෙස ලබා දී ඇති උපදෙස් අනුව ක්‍රියා කිරීමටත්, පැරණි සාහිත්‍ය පොතපත කියවා සාහිත්‍ය දැනුම වර්ධනය කර ගැනීමටත්, උතුම් පුදසිරිත් ඒ ආකාරයෙන් ම පවත්වා ගෙන යෑමටත්, පුරාවස්තු ආරක්ෂා කිරීමටත් කටයුතු කිරීම තුළින් බෝධි ආගමනයේ දායාද තව දුරටත් රැක ගැනීමට අපට හැකියාව ලැබෙනු ඇත.

## සාරාංශය



සංඝමිත්තා තෙරණිය විසින් ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේගේ දක්ෂිණ ශාඛාව ලංකාවට වැඩම කරවූයේ උඳුවප් පුර පෝ දිනක ය.

බෝධීන් වහන්සේගේ ආරක්ෂාව හා වතාවත් සිදු කිරීම සඳහා ශිල්ප ශ්‍රේණි දහඅටක පිරිසක් ලංකාවට එවන ලදහ.

ශ්‍රී ලංකාවේ පැවිදි වූ මුල් ම කාන්තාව මහානාග යුව රජුගේ බිසව වූ අනුලා දේවියයි.

දීර්ඝ ඉතිහාසයක් ඇති අගනා සංස්කෘතික උරුමයක් වන ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ ලොව පැරණිතම ඓතිහාසික වෘක්ෂය ලෙස හැඳින්වේ.

ශ්‍රී ලංකාවේ ඉතිහාසය හැදෑරීම මගින් සංස්කෘතික උරුමය ආරක්ෂා කර ගැනීමේ පසුබිම සකස් වේ.

## ක්‍රියාකාරකම



1. ශ්‍රී මහා බෝධීන් වහන්සේ වැඩම කරවීම නිසා අපට ලැබුණු සංස්කෘතික දායාද දෙකක් ලියන්න.
2. ඓතිහාසික පූජනීය ස්ථානයක් වැඳ පුදා ගැනීමට යන අයකුට අදාළ උපදෙස් මාලාවක් සකස් කරන්න.
3. බෝධි පූජාවක් පැවැත්වීමේ දී අනුගමනය කළ යුතු වතාවත් හතරක් ලියා දක්වන්න.

## පැවරුම



01. බෝධි පූජාවක් පැවැත්වීම සඳහා අවශ්‍ය පූජා භාණ්ඩ ලැයිස්තුවක් සකස් කරන්න.
02. ශ්‍රී මහා බෝධි වන්දනා ගාථා සොයා දැනගෙන ඒවා කියවන්න.

## පුහුණුවට



පහත සඳහන් වන අනුරාධපුර ජය ශ්‍රී මහා බෝධි වන්දනා ගාථාව කට පාඩම් කර ගන්න.

සුපතිට්ඨිත රට්ඨනුරාධපුරේ
සමදිට්ඨිත දක්ඛිණ ශාඛ භවං
සුභමේඝවනම්බර මේඝ නිභං
ජයබෝධි මහං පනමාමි වරං

ශ්‍රී මහා බෝධීන් වහන්සේගේ දකුණු ශාඛාව වූ, අනුරාධපුර මහමෙව්නා උයනෙහි පිහිටියා වූ, ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ මම නමස්කාර කරමි.

# 19 අරපිරිමැස්ම දියුණුවට මගකි

අප ඉරුදින දහම් පාසලේ උදෑසන වතාවත් ඉටුකිරීමෙන් අනතුරුව ප්‍රධානාචාර්ය ස්වාමීන්වහන්සේ විසින් අනුශාසනාවක් පවත්වනු ලැබේ. පසුගිය ඉරුදින අනුශාසනාවේ නිමිත්ත වශයෙන් යොදාගනු ලැබුවේ දහම් පාසල් සිසුන් විසින් ජල කරාමයක් බාගෙට වසා තිබීමයි.

බෝසත් දරුවනි, අද හොඳ කථාවක් මම කියලා දෙනවා ඔය ළමයින්ට. පූජාවලිය කියන බණ පොතේ ජීවකාරාම පූජා කථාවෙහි තමයි මේක තියෙන්නේ. දුවේ, පුතේ ජීවක කියන්නේ බුද්ධ කාලයේ හිටපු දක්ෂ වෛද්‍යවරයෙක්. වෙදකම ඉගෙන ගත්තේ තක්ෂිලා නුවර දිසාපාමොක් ඇදුරුතුමාගෙන්. ඉගෙනීම අවසන් කොට තම නුවරට එන අතරමග දී සාකේත නුවර සිටුතුමාගේ දේවියගේ කාලයක පටන් පවත්නා හිසේ අමාරුවක් ගැන එතුමාට දැන ගන්න ලැබුණා. තරුණ ජීවක වෙදදුරුතුමා මේ ආරංචිය ගැන සැලකිලිමත් වුණා. එතුමා කල්පනා කළා මේ තුළින් තමන් ඉගෙන ගත් ශාස්ත්‍රය අත්හදා බැලීමටත්, නිවසට යන විට කිසි යම් ධනයක් උපයාගෙන යෑමටත් පුළුවන් බව. ඒ නිසා සිටු දේවියට ප්‍රතිකාර කිරීමට තීරණය කරලා, එතුමා සිටු මාලිගයට ගියා.

සිටු දේවිය මේ ළාබාල වෛද්‍යවරයා ගැන මුලින් එතරම් පැහැදීමක් ඇති කර ගත්තේ නැහැ. ඊට හේතුව මීට පෙර වයසින් මුහුකුරා ගිය දක්ෂ වෛද්‍යවරුන් සිටු දේවියගේ රෝගය පරීක්ෂා කර බලා විවිධ ප්‍රතිකාර ලබා දුන්නත් සුව නොවීමයි. එනමුත් සිටු නිවසට පැමිණි මේ වෛද්‍යවරයාගේ ඉල්ලීම මත ප්‍රතිකාර කිරීමට අවසරය ලබා දුන්නා. වෛද්‍යතුමා රෝගියා පරීක්ෂා කොට සුවපත් කිරීම සඳහා ගිතෙල් ටිකක් අවශ්‍ය බව දැනුම් දුන් විට සේවිකාවක් එය ලබා දුන්නා. ජීවක වෙදදුරුතුමා තමා සතු ව ඇති බෙහෙත් ද මෙම ගිතෙල්වලට එකතු කොට සාදා ගත් බෙහෙත සිටු දේවියට නශ්‍ය කළා. නශ්‍ය කිරීමේ දී ගිතෙල් ටිකක් බිමට වැටුණා. ඒ අවස්ථාවේ රෝගී සිටු දේවිය සේවිකාවකට කථා කර පුළුන් කැල්ලකට එම ගිතෙල් ටික රැගෙන ආරක්ෂිත ව තබන ලෙස නියම කළා.

එය දුටු ජීවක වෛද්‍යවරයා සිටුදේවිය පිළිබඳ කලකිරීමක් ඇති කර ගත්තා. ඔහු සිතුවේ මැය දැඩි ලෝභී මසුරු තැනැත්තියකැයි කියලයි. වෛද්‍යවරයාගේ බෙහෙතින් ඇගේ හිසේ රුදාව සුව වී බොහෝ සතුට ට පත් වුණා. විශාල ධනයක් පරිත්‍යාග කර ඔහුට ස්තුති කළා. ඒ සමග ම මෙහෙම ප්‍රකාශයකුත් කළා.

> "වෛද්‍යතුමනි, බිමට වැටුණු තෙල් සේවිකාවක ලවා පුළුන් කැල්ලකට රැගෙන පරිස්සම් කරන ලෙස උපදෙස් දුන් විට මම ලෝභී අයකු ලෙස වටහා ගත්තා නේද? නැහැ, වෛද්‍යතුමනි අපි ගිහි ගෙවල්වල ඉන්න අයනෙ. සම්පත්වල ආරක්ෂාව ගැන නිතර හිතනවා. අනවශ්‍ය ලෙස සම්පත් භාවිත කිරීමටත්, ඒවා ප්‍රයෝජනයට නොගෙන විනාශ වෙලා යනවා දකින්නටත් මම කැමැති නැහැ. නශ්‍යයේ දී බිමට වැටුණු ගිතෙල් ටිකෙන් වුවත් බොහෝ ප්‍රයෝජන ගන්න පුළුවන්. එය ඇතැම් විට පහනක් දැල්වීමට භාවිත කරන්න පුළුවන්. කනේ අමාරුවක් හැදුණොත් භාවිතයට ගන්නත් පුළුවන්. දුප්පත් අසරණ අයෙකුගේ අතේ පයේ ගැමට තෙල් බිංදුවක් ඉල්ලා සිටියොත් ලබා දෙන්නත් පුළුවන්."

යනුවෙන් සිටු දේවිය තරුණ ජීවක වෛද්‍යවරයාට සම්පත් භාවිතය පිළිබඳ ව වටිනා උපදේශයක් ලබා දුන්නා.

දරුවනේ, මේ සිද්ධියෙන් අපටත් පාඩමක් ඉගෙන ගන්න තිබෙනවා. අපේ නොසැලකිල්ල නිසා කොතරම් සම්පත් ප්‍රමාණයක් දෛනික ව අප අතින් විනාශ වෙනවා ද? අනවශ්‍ය ලෙස නිවෙස්වල, කාර්යාලවල විදුලි බල්බ මොනතරම් ප්‍රමාණයක් දැල්වෙනවා ද? විදුලි පංකා වගේ ම වායු සමනය කිරීමට ඇති යන්ත්‍ර නිකරුණේ ක්‍රියාත්මක කර තිබෙනවා ද? මේ නිසා මොන තරම් විදුලිය ප්‍රමාණයක් අපතේ යනවා ද? ඒ විතරක් නෙවෙයි, නිවසේ හෝ කාර්යාලවල භාවිතයට ගන්නා උපකරණයක් සුළුවෙන් අබලන් වුවත් අලුත්වැඩියා නොකර භාවිතයෙන් ඉවත් කර විනාශ වෙන්න හරිනවා. ඒ ගැන සොයා බැලීමක් නැහැ. අලුත්වැඩියා කොට භාවිතයට ගතහැකි හුඟක් සම්පත් මේ නිසා විනාශයට පත් වෙනවා. සමහරු පොතක පිට කවරයක් ගැලවුණ ගමන් ඒ පොත පාවිච්චියට ගන්නේ නැහැ. ඇඳුමක් ටිකක් ඉරුණොත් එය මහලා අඳින පුරුද්දක් නැහැ.



අපේ බුදුහාමුදුරුවෝ සම්පත් ආරක්ෂා කර ගැනීමට අදාළ බොහෝ උපදෙස් දීලා තියෙනවා. ඒ අතර දරුවනේ, **අංගුත්තර නිකායේ කුල සූත්‍රයේ** සම්පත් ආරක්ෂා කර ගැනීමට අදාළ උපදෙස් හතරක් උගන්වලා තියෙනවා.

01 විනාශ වූ දේ වෙනුවට අලුත් දේ සපයා ගැනීම
02 දිරා ගිය දේ සොයා බලා අලුත්වැඩියා කර ගැනීම
03 අසීමිත ව ආහාරපාන ගැනීමෙන් වැළකීම
04 චරිතවත් ස්ත්‍රියක හෝ පුරුෂයකු ප්‍රධානත්වයට පත් කිරීම

දුවේ පුතේ අද උදේ මේ කරුණුවලින් මුල් කරුණු දෙක පිළිබඳ ව විශේෂයෙන් හිතා බලන්න. අපේ බුදුහාමුදුරුවෝ මේ ධර්මය දේශනා කළේ දැනට වසර 2600කට පෙරාතුවයි. නමුත් ඒවා අද සමාජයටත් එක සේ වලංගුයි නේද? අද මම මේ කරුණු ටික කියලා දුන්නේ ඇයි ද කියලා මේ ළමයි දන්නවා ද? අද උදේ මේ අය පන්සල පිරිසිදු කිරීම හොඳින් කරලා තියෙනවා. එය පුණ්‍ය ක්‍රියාවක්. දස පුණ්‍ය ක්‍රියාවලට ගැනෙන හොඳ පිංකමක්. හැබැයි දරුවනේ, බුද්ධ පූජාවට එන විට අත් ධෝවනය කිරීමට භාවිත කළ කරාමවලින් දෙකක් බාගෙට වහලයි ඇවිල්ලා තියෙන්නේ. මම මලුවට වඩින විට ඒවා දැකලා වහලයි

මෙතැනට වැඩම කළේ. අපේ සමහර දරුවන් සම්පත් පරිහරණය කිරීමේ දී ඒ පිළිබඳ වැඩි සැලකිල්ලක් දක්වන බව නම් පේන්නේ නැහැ. මොකද මම එහෙම කියන්නේ? පන්සලේ, පාසලේ, නිවසේ, සම්පත් පරිහරණය කළාට ඒ ගැන වැඩි සැලකිල්ලක් දක්වන්නේ නැහැ. ඒ නිසා තමයි අතු ගාන්න ගත්ත කොස්ස, ඉදල, අතුගාලා නියමිත තැන තියන්නේ නැත්තේ. ඒක ඔහේ දාලා යනවා. වතුර කරාමය ඇරලා බාගෙට වහලා යනවා. පන්තියේ ලියන්න ගෙනා රට හුණු කැල්ල අවසානයේ පරිස්සම් ඇති තැනක තියලා යන්නේ නැහැ. ඒවා තියෙන්නේ මිදුල්වල, කාණුවල. ඇතැම් ළමයින් අඳින ඇඳුම, පළඳින සෙරෙප්පුව පවා නියමිත ස්ථානයක තබා ආරක්ෂා කරන බවක් පේන්නේ නැහැ. මේ ආකාරයට අප භාවිත කරන සම්පත් කොපමණ ප්‍රමාණයක් තියෙනවා ද? ඒවායේ ආරක්ෂාව ගැනත් සැලකිලිමත් විය යුතුයි නේද?

ඉතින් දරුවනේ අද මම කියලා දුන්න මේ කරුණුත් හොඳින් හිතට ගෙන සම්පත් අරපිරිමැස්මෙන් හා සැලකිල්ලෙන් යුතු ව භාවිතයට ගන්නා ලෙස බොහොම දයාවෙන් ඉල්ලා සිටිනවා. ඔය දරුවන්ට පුළුවන් නම් පූජාවලිය ධර්ම ග්‍රන්ථය සොයාගෙන අර මා කියාපු කතාව කියවල බලන්න. තෙරුවන් සරණයි!

## සාරාංශය



අප භාවිත කරන සියලු ම සම්පත් අරපිරිමැස්මෙන් යුතු ව භාවිත කිරීමට යොමු විය යුතු ය. බුදු දහම සම්පත් අරපිරිමැස්මෙන් භාවිත කිරීමට අදාළ බොහෝ උපදෙස් ලබා දී ඇත. සම්පත් අරපිරිමැස්ම යනු ලෝභකම නොවන බව පැහැදිලි ය. වර්තමානයේ බොහෝ දෙනා සම්පත්වල ආරක්ෂාව හා අරපිරිමැස්ම ගැන සැලකිලිමත් නොවී කටයුතු කරන බව දක්නට ලැබේ. එය පුද්ගලයාගේ මෙන් ම රටේ ද දියුණුවට විශාල බාධකයකි.

## ක්‍රියාකාරකම



1. සම්පත් ආරක්ෂා කිරීමට අදාළ ව බුදුරදුන් ලබා දුන් උපදේශය ලියන්න.
2. අපගේ නොසැලකිල්ල හා අපරීක්ෂාකාරී බව නිසා විනාශයට පත් වන පාසල් උපකරණ රැක ගැනීමට ගත හැකි ක්‍රියාමාර්ග පන්තිභාර ගුරුතුමා හෝ ගුරුතුමිය සමග සාකච්ඡා කරන්න.
3. පහත සඳහන් කවිය කියවා මතකයේ තබා ගන්න.

ජල නළයෙන් වතුර රැගෙන කරාමෙ වහමු
තමන්ගෙ වැඩ අවසන් කොට විදුලිය නිවමු
ටිකක් ඉරුණු ඇඳුම මසා නැවතත් අඳිමු
සකසුරුවම පුංචි කාලෙ සිට ම හුරු වෙමු

## පැවරුම



1. සම්පත් ආරක්ෂා කර ගැනීමට යොමු කරවන උපදේශාත්මක වාක්‍යයක් ලියා පන්ති කාමරයේ ප්‍රදර්ශනය කරන්න.
2. සතියක් තුළ තම නිවසේ, පාසලේ හෝ පොදු ස්ථානවල සම්පත් ආරක්ෂා කර ගැනීම සඳහා ඔබ ගත් පියවර ඔබේ සාධුචර්යා පොතෙහි සටහන් කරන්න.

# 20 රන් පිහාටු

පන්සිය පනස් ජාතක පොත කුරුණෑගල යුගයේ රචනා වූ වැදගත් ම සාහිත්‍ය කෘතියයි. එය තරම් සිංහල ජන ජීවිතයට බලපෑ තවත් කෘතියක් නැති තරම් ය. බෝසත් චරිතය මුල්කොට ගත් කථා වස්තු පන්සිය හතළිස් හතක් එම කෘතියෙහි ඇතුළත් ව තිබේ. සිංහල බෞද්ධ ජනතාව එම කතන්දරවලට සමූහ වශයෙන් සවන් දී ධර්ම උපදේශ මෙන් ම ධාර්මික සුවයක් ද ලැබූහ. එම ජාතක කතා අතුරෙන් ස්වර්ණ හංස ජාතකය මෙහි විරිඳුවට නඟා ඇත. **දැඩි ලෝභය දුකට පත්වීමට හේතු වේ** යන්න මේ කතා වස්තුවෙන් දෙන ප්‍රධාන පණිවුඩයයි.

1. තෙරුවන් සරණයි ඔබහට - සැමගෙන් අවසර මාහට
   රණහස ජාතක කථාව - විරිඳුවලින් පැවසීමට

2. මහ බෝසත් උතුමාණෝ - පෙර කළ පිං බල මහිමෙන්
   උපන්නෝ ය හිමාලයේ - ස්වර්ණ හංසයකු විලසින්

3. පෙර දිවියෙහි සිල් රැකලා - යහගුණ දම් ඔප කරලා
   පෙර අත්බව දකින පිනක් - ස්වර්ණ හංසහට ලැබිලා

4. පෙර බවයේ අඹුදරුවන් - අසරණ වී දුක් විඳිමින්
   බැලමෙහෙවර කරන අයුරු - දුටුවා තම පින් බලයෙන්

5. ස්වර්ණ හංස හිත පුරවා - දරු සෙනෙහස මතු වූවා
   ඔවුනට සරණක් වන්නට - පෙර නිවහන වෙත ආවා

6. බිරිය සමග දරු තිදෙනා - දුටුව සැණින් රණ තිසරා
   පෙර බවයේ තම වගතුග - ඔවුනට හෙළි පෙහෙළි කළා

7. හංසයා රන් පිහාටුවක් - ගලවා බිරිඳට දෙනවා
   නැවතත් එන බව පවසා - හිමවත වෙත පියඹනවා

8. දුප්පත්කම නැති වෙනවා - බැලමෙහෙවර නවතිනවා
හංස පිහාටුව විකුණා - පවුල ම ජීවත් වෙනවා

9. දින එක දෙක ගත වුණා - බත බුලතින් සරුවුණා
තණ්හාවෙන් පිරුණු බැමිණි - දියණිවරුන් අමතනා

10. රණ හංසය අල්ලාගෙන - පිහාටු හැම ගලවා ගෙන
ඉක්මනින් ම පොහොසත් වෙමු - එයයි ඇගේ යෝජනාව

11. එපා අම්මෙ එක වරක දී - පිහාටු සැම ගලව ගන්න
පියාණන්ට නොහැකි වේවි - යළි අහසට පියාඹන්න

12. දූවරුන්ගෙ ඇවිටිලි සැම - ඉවත දමූ මවු බැමිණිය
රණ තිසරා අල්ලා ගෙන - ගලව ගත්ත පිහාටු සැම

13. ගලවන ලද පිහාටු කිසි - එකක් නොමැත රන් වූයේ
සීමා නැති ආශාවෙන් - තිබුණු දෙයත් නැති වූයේ

14. අසරණ වූ ස්වර්ණ හංස - එම නිවසෙහි තනිවෙනවා
නැවත පියාපත් ආවත් - ඒ සියල්ල සුදු වෙනවා

15. සුදු පිහාටු වැඩුණු පසු ව - හංස රාජ පියඹනවා
යළි කිසි දා නොඑන පරිදි - හිමාල වනයට යනවා

16. ලද පමණින් සතුටු නොවූ - ලෝබ සිතට අවනත වූ
බැමිණි නිසා අහිමි වුණා - සැපත සතුට හිමි ව තිබූ

17. දුක් දොම්නස් ඇති වුණා - හද සෝගිනි ඇවිළුණා
නැති බැරිකම් අගහිගකම් - අහස උසට පැමුණුණා

18. ගෙදර අයට රන් පිහාටු - එකක් බැගින් පුද කළේ ය
ගොඩක් ගන්න ගිහින් බිරිය - කළගුණ අමතක කළා ය

19. ස්වර්ණ හංස කතා පුවත - දිග හැරුණා විරිදු ලෙසට
පසක් වේ ය මේ පුවතින් - තන්හාදීනව මොනවට

20. ලද දෙයකින් සතුටු වෙන්න - සරල ව දිවි මග ගෙවන්න
සැනසිල්ලෙන් කල් අරින්න - නිරතුරුව ම සිතට ගන්න

## සාරාංශය

බෝසතාණෝ එක් භවයක ස්වර්ණ හංසයෙක් ව ඉපදුණහ. පෙර පින් බලෙන් ජාතිස්මරණ ඥානය ලැබූ මේ හංසයාට තමාගේ පෙර භවය දැකිය හැකි විය. දරු දෙදෙනෙකු හා බැමිණිය සමග තමා සතුටින් ජීවත් වූ බවත් හදිසියේ ම සිදු වූ තමාගේ මරණයෙන් දරු පවුල අසරණ වූ බවත් දුටුවේ ය. බැලමෙහෙවර කරමින් අසරණ ව ජීවත් වූ තම දරු පවුලට පිහිට වීමට අදහසක් හංසයාට පහළ විය. දිනපතා තමාගේ රන් පිහාටුවක් බැගින් දමා ගියේ ය. රන් පිහාටු විකුණා ඔවුහු ජීවිතය සැපවත් කර ගත්හ. දිනක් ඉක්මනින් ධනවත් වීමට සිතූ බැමිණිය දරුවන්ගේ විරෝධය නොතකා හංසයාගේ පිහාටු එක වර ගැලවීමට තීරණය කළා ය. එසේ ගැලවූ පිහාටු එකක් වත් රන් නොවූ අතර බැමිණිය තමා කළ මෝඩ ක්‍රියාවෙන් පසුතැවීමට පත් වූවාය. දැඩි ලෝභය විනාශයට මෙන් ම පිරිහීමට ද හේතු වන බව මෙම ජාතක කථාවෙන් අපට දෙන පණිවිඩයයි.

## ක්‍රියාකාරකම්



01. පහත සඳහන් වචනවල අර්ථය ලියන්න.

I පෙර භවයේ -

II සරණක් වන්නට -

III නපුරු ක්‍රියා -

IV යහගුණ -

V අඹු දරුවන් -

02. මෙම කතා පුවත නාට්‍යානුසාරයෙන් රඟ දක්වන්න.

03. පන්සිය පනස් ජාතක පොතෙහි සඳහන් ස්වර්ණ හංස ජාතකය, ජාතක දේශනා ශෛලියෙන් කියවන්න.

## පැවරුම



ඔබේ පන්තියේ සෙසු අය සමඟ අසරණ අයෙකුට පිහිටවීමේ වැඩ සටහනක් ක්‍රියාත්මක කරන්න.

# 21 සැදැහැ ගුණයෙන් සරු වෙමු

දහම් පාසලේ සීනුව නාද විය. හය ශ්‍රේණියේ දරුවන්ගේ හේවිසි හඬ මැද්දේ බුද්ධ පූජාව සහිත මල් පෙරහැර බුදු මැදුර කරා ගමන් ගත්තේ ය. බුදුරජාණන් වහන්සේ ඉදිරියේ පූජාව තැන්පත් කළේ සුනිමල් හා කමල් ය. එහෙත් ඔවුන් එය කළේ කතාබස් කරමිනි. එය දුටු පොඩි හාමුදුරුවෝ,

"දරුවනේ, බුදුරජාණන්වහන්සේට යමක් පූජා කරන විට බොහොම ශ්‍රද්ධාවෙන් කරන්න ඕනෑ" යැයි පැවසූහ.

උදෑසන ආගමික වතාවත්වලින් පසු දරුවෝ පන්තියට ගියහ. ගුරුතුමිය පන්තියට ආවා ය.

'ගුරුතුමී, මට අද පුංචි ප්‍රශ්නයක් අහන්න තියෙනවා' යි ශාන්ත නැගිට කීවේ ය.
"ඔව් මොකක් ද පුතේ ප්‍රශ්නය?"
"අද බුද්ධ පූජාව පූජා කරන කොට සුනිමලුයි කමලුයි කතා කළා. ඒ වෙලාවේ පොඩි හාමුදුරුවෝ මේ කටයුතු බොහොම ශ්‍රද්ධාවෙන් කළ යුතු බව පැවසුවා. ඉතින් ගුරුතුමී "ශ්‍රද්ධාව" කියන්නේ මොකක් ද? "
"ශ්‍රද්ධාව ගැන කියලා දෙන්න මං දූලා පුතාලට පොඩි කතන්දරයක් කියන්නම්."

පැරණි බෞද්ධ නගරයක පිහිටි විහාරස්ථානයක සිල් සමාදන් වූ උපාසක මහතෙක් රාත්‍රි කාලයේ පන්සලේ බණමඩුවේ පැදුරක් එලා නිදා ගැනීමට සූදානම් වුණා. පැදුරේ හාන්සි වන විට ම මතක් වූයේ දෙපා ඇත්තේ ශ්‍රී මහා බෝධිය පැත්තට බව. වහා ම නැගිට හිස අනෙක් පැත්තට දමා නිදා ගැනීමට සූදානම් වුණා. එවිට දෙපා කතරගම කිරිවෙහෙර පැත්තේ ය. නැවත ඔහු පැදුර අනෙක් පැත්තට එලා නිදා ගැනීමට සූදානම් වූ විට, දෙපා ඇත්තේ කැලණි වෙහෙර පැත්තට ය. අනෙක් පැත්තේ ශ්‍රී පාදයයි. කොයි පැත්තකටවත් දෙපා දමා නිදා ගැනීමට නොහැකි වූ බැවින් ඔහු එළි වන තුරු හිටියේ හිටගෙනයි. පසු දින සිල් පවාරණය කරවීමට ලොකු හාමුදුරුවන්, ධර්මශාලාවට වඩින විටත් ඔහු සිටියේ හිටගෙනයි.

"මොක ද උපාසක උන්නැහෙ හිටගෙන?"
"හාමුදුරුවනේ, මේ පැත්තේ කිරි වෙහෙර වහන්සේ, අර පැත්තේ ශ්‍රී මහා බෝධීන් වහන්සේ, අනික් පැත්තෙ කැලණි වෙහෙර වහන්සේ, එහා පැත්තේ ශ්‍රී පාද පත්මය, ඉතින් කොහොම ද හාමුදුරුවනේ ඒ එක පැත්තකටවත් දෙපා දමා නිදා ගන්නෙ?"
"උපාසක උන්නැහේ, ඕකට කියන්නේ අමූලික ශ්‍රද්ධාව" යැයි උන් වහන්සේ ප්‍රකාශ කළහ.

ශාන්ත මේ ප්‍රශ්නෙ අහපු එක හොඳයි. අපි අද ශ්‍රද්ධාව ගැන ටිකක් සාකච්ඡා කරමු.

ශ්‍රද්ධාව කියන්නේ බුදුන්, දහම්, සඟුන් යන තෙරුවන කෙරෙහි ඇති වන පැහැදීමයි. බුදුරජාණන් වහන්සේ ගැන උන් වහන්සේගේ බුද්ධත්වය ගැන පිළිගෙන පැහැදීමයි. බුදුරජාණන් වහන්සේ දෙසූ දහම ගැනත් එය පිළිපැදීමෙන් උසස් තත්ත්වයකට පත් සංඝරත්නය ගැනත් අවබෝධයෙන් යුක්ත ව පැහැදීම ශ්‍රද්ධාවයි. ශ්‍රද්ධාව ප්‍රධාන වශයෙන් දෙයාකාරයි.




මෙහි සඳහන් වුණු උපාසක මහතා තුළ ශ්‍රද්ධාව නිවැරැදි ලෙස පිහිටා තිබුණේ නැහැ. උපාසක මහතා ළඟ තිබුණේ අමූලික ශ්‍රද්ධාවයි. අවබෝධයක් ඇති ව ඇති කර ගත් ශ්‍රද්ධාවක් නොවේ. අප ශ්‍රද්ධාව ඇති කර ගත යුත්තේ බුද්ධිමත් ව හොඳට හිතලා බලලා අවබෝධයක් ඇතිවයි. එහෙම ඇති කර ගන්නා ශ්‍රද්ධාවට කියන්නේ ආකාරවතී ශ්‍රද්ධාව කියලයි.

අපට නියම ශ්‍රද්ධාවක් තියෙනවාදැයි මැන බැලීමට උපකාර වන ගාථාවක් ඇත.

දස්සන කාමෝ සීලවතං - සද්ධම්මං සෝතුමිච්ඡති
විනෙයා මච්ඡේර මලං - සවෙ සද්ධෝති වුච්චති

මෙම ගාථාවට අනුව නියම ශ්‍රද්ධාවන්තයෙකු තුළ මෙම ලක්ෂණ පිහිටා තිබිය යුතු යි.

- සිල්වතුන් දැකීමට කැමැති වීම
- දහම් ඇසීමට කැමැත්ත තිබීම
- මසුරු මල දුරු කොට පරිත්‍යාග කිරීමට කැමැති වීම

අප හැමවිට ම ආගමික වතාවත්වල යෙදෙන විට ආකාරවතී ශ්‍රද්ධාවෙන් ක්‍රියා කළ යුතුයි. ඒ නිසා තමයි උදේ බුද්ධ පූජාව පවත්වන විට පොඩි හාමුදුරුවො දරුවන්ට ශ්‍රද්ධාවෙන් ඒ කටයුතු කළ යුතු බව කියා දී තිබෙන්නේ.

අප පන්සලට ගිය විට ස්වාමීන් වහන්සේලා සිල්වත් නිසා උන් වහන්සේලා දැකීමට, කතාබහ කිරීමට හා වැඳීමට අපි කැමැතියි. එහෙම ඇසුරු කළාට මදි. උන් වහන්සේලා ආදර්ශයට ගෙන අපේ ජීවිත හැඩගස්සවා ගත යුතුයි. ස්වාමීන් වහන්සේලා සමග කතා බහ කිරීමේ දී ශාසනික වචන භාවිත කිරීමට පුරුදු විය යුතුයි.

දිනපතා බුද්ධ පූජාව ශ්‍රද්ධාවෙන් යුතු ව කළ යුතුයි. දන් දීම කළ යුතුයි. සිතේ ලෝබකම තබාගෙන දන් දීමෙන් පලක් නැහැ. ශ්‍රද්ධාව ඇති පුද්ගලයා පරිත්‍යාගශීලී කෙනෙකි.

ලොව වැඩි ම සිල්වත් පුද්ගලයා බුදුරජාණන් වහන්සේයි. ඒත් අද අපට බුදුරජාණන් වහන්සේ රූප කායෙන් ජීවමාන ව දැක ගැනීමට නොහැකියි. එහෙත් බුදුරජාණන් වහන්සේ කෙරෙහි ශ්‍රද්ධාව ඇති පුද්ගලයින්ට ධර්මය දැකීම තුළින් බුදු හාමුදුරුවන් දැක තම දෙලොව ජීවිතය සාර්ථක කර ගත හැකි යි.

බුදුරජාණන් වහන්සේ දේශනා කළ ධර්මය තමයි අද අපේ ශාස්තෘවරයා. බුදු බණ තමයි අපට යා යුතු මග, නොයා යුතු මග කියා දෙන්නේ. ඒ උතුම් දහමෙහි වටිනාකම වැටහෙන්නේ එය තේරුම් ගත් පමණටයි. දහම වටහා ගැනීමට නම් ධර්ම දේශනාවලට සවන් දිය යුතුයි. ශ්‍රද්ධාව නැත්නම් බණ ඇසීමට කැමැත්තක් ඇති නොවේ.

යම් යම් දේ අපට අයත් කර ගැනීමට අප කැමැතියි. එහෙත් අපට අයත් දේ කෙනෙකුට හෝ පිරිසකට දීමට හිත හදා ගැනීම අපහසු යි. ශ්‍රද්ධාව තිබේ නම් පරිත්‍යාග කිරීම අපහසු නැත. ඒ නිසයි ශ්‍රද්ධාවන්තයාගේ ලක්ෂණයක් ලෙස මසුරු මල දුරු කර පරිත්‍යාගශීලී වීම දක්වා තිබෙන්නේ. දරුවන් ලෙස අප කුඩා කල සිට ම සිල්වත් ගුණවත් ගිහිපැවිදි උතුමන් ඇසුරු කිරීම පුරුද්දක් කර ගත යුතුයි. බණ ඇසීම බණ පොත් කියවීම ජීවිත පුරුද්දක් බවට පත් කර ගත යුතුයි. එසේ ම හැකි පමණින් දන් දීමට, පරිත්‍යාග කිරීමට කැමැත්තෙන් ම ඉදිරිපත් විය යුතුයි. අප සැදැහැති දරුවන් වන්නේ එසේ වූ විටයි.

## සාරාංශය



- ශ්‍රද්ධාව නම් තෙරුවන් ගුණ කෙරෙහි පැහැදීමයි.
- ශ්‍රද්ධාවේ ප්‍රභේද දෙකක් ඇත.
- අමූලික ශ්‍රද්ධාව හා ආකාරවතී ශ්‍රද්ධාව ඒ දෙකයි.
- බෞද්ධයකු තුළ පැවතිය යුත්තේ ආකාරවතී ශ්‍රද්ධාවයි.
- "දස්සන කාමෝ සීලවතං......" යන ගාථාව ඇසුරෙන් සැදැහැවතකුගේ ලක්ෂණ 3ක් පැහැදිලි වේ.
- ආකාරවතී ශ්‍රද්ධාවෙන් යුතු ව ආගමික වතාවත්වල යෙදිය යුතුයි.
- ශ්‍රද්ධාව ජනනය වන ආකාරයේ ශාසනික වචන භාවිත කළ යුතුයි.
- ශ්‍රද්ධාවන්තයකු වීමෙන් දෙලොව ජීවිතය සාර්ථක කර ගත හැකි ය.
- සිල්වතුන් ඇසුරු කිරීමට, බණ ඇසීමට, පරිත්‍යාගශීලී වීමට කුඩා කල සිට ම පුරුදු විය යුතු ය.

## ක්‍රියාකාරකම



(1) බුදු දහමේ සඳහන් තෙරුවන නම් කරන්න.
(2) ශ්‍රද්ධාවේ ප්‍රභේද දෙක මොනවා ද?
(3) බෞද්ධයකු තුළ පැවතිය යුත්තේ කුමන ශ්‍රද්ධාව ද?
(4) සැදැහැවතකු තුළ තිබෙන ලක්ෂණ තුන මොනවා ද?
(5) අර්ථයෙන් සමාන වචන යා කරන්න

| I | II |
|---|---|
| අවුළුපත් | ජලය |
| දැහැත් | නිදාගන්නවා |
| පැන් | අතුරුපස |
| වඩිනවා | බුලත්විට |
| සැතපෙනවා | එනවා |

## පුහුණුවට



ශාසනික වචන සමහරක් හා ඒවායේ තේරුම කට පාඩම් කර ගන්න.

| | | |
|---|---|---|
| දැත් ධෝවනය | - | අත් සේදීම |
| අවුළුපත් | - | අතුරුපස |
| දැහැත් | - | බුලත්විට |
| මල් නෙළීම | - | මල් කැඩීම |
| පැන් | - | වතුර |
| ගිලන් පස | - | තේ, කෝපි වැනි බීමට ගන්නා දේ |
| පැන් පහසුවෙනවා | - | දිය නානවා |
| අමදිනවා | - | අතුගානවා |
| භේසජ්ජ | - | බෙහෙත් |
| ආවාසය | - | ලැගුම් ගේ |